සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

62 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2560ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2016 නොවැම්බර්)



## බුදු සසුන අබෞද්ධයන්ට වැනසිය හැකිද ?

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සැම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# ඇහැ ගහගෙන ඉන්න ඔය ඇස දමන ලෙඩ

පැහැ රුව විඳින'යුරු දෙන තරමටම    ඉඩ
වැහැරෙන තුරුම දැක සතුටුව කැමති    හැඩ
සැහැසිද නොව අතුරු මිතුරුව කෙරෙන    වැඩ
ඇහැ ගහගෙන ඉන්න ඔය ඇස දමන    ලෙඩ

මිහිරිව ඇසෙන නදකට නැටවෙයිද    ඉබේ
මතු බවයක් තිබේ එය මතකයෙද    ඔබේ
අහිමිව ගියත් රස මුසු තැන දුකද    තිබේ
බිහිරිව ඉන්න සවනද කළ හැකිය    හබේ

විහිදිව ලද සැණින් නැහැයද සුවඳ    දිගේ
දුගඳක කිපී ගිනිගෙන යලි ගැටෙනු    හැඟේ
සුහදව දැනේ නම් එරෙහිව කරන    රඟේ
කවදක මුත් පෙනේ මායා ලොවක    අගේ

රසයට ලොලේ දිව පිනවනු පිණිස    නිති
කුස පුරවමින් නෙක දේ සැහුමද    නැති
වස විස කැවී රෝ බිය ළඟ ළඟම    එති
තොස වැඩුනා මිසක කෑදරකමද    වෙති

සුවයක සැතපුවත් කුණු කය    අසාරයේ
ඔපයක සැඟව ඇත පිනවන තුරා    තියේ
සැපතක රස සොයා අවදානමේ    ගියේ
නිරයක දොරටු හැර පවතියි දිවා    රැයේ

දුන්නත් නිමිති ඉඳුරන්ගෙන් යැපෙන    මන
පිළිගත්තාද අවිදුව තිලකුණුද    දැන
නැණවත් අය නොඇලි සිහිකර මුනිඳු    බණ
ජය ගත්තෝය පිළිපැද දෙසූ දහම    ගුණ

දනිතිද සය දෙනම ළඟ හිඳ    රවටාවී
පිරි හොඳ නියම මරු යැයි සිත    සපුරාවී
දැක විඳ ගනී නම් නිවනම    වනසාවී
කැමතිද ලොව බැඳෙන්නට මතු දුක    දේවී

රැඳුනත් සිතැඟි තුළ කෙළෙසුන්    පරාදයා
සමථය කළ කෙරුම් නොඇලෙන    විරාගයා
බැඳී තණ්හා නිමව නොදිවෙන    නිරෝධයා
එතරම් සාන්තය නිවනම    පණීතයා

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ

# පහළ වන සිත අනුව දෙන දානයේ අනුහස්

**පෙළ දහමින් නිවන් මග - 02**



දානයක් දෙන්නෙ කොහොමද කියල පසුගිය කලාපයෙන් විස්තර කළා. ඒ වගේම ඒ දෙන දානය ලබන කෙනා අනුව, වටිනාකම හෙවත් ආනිසංස වෙනස් වෙන්නෙ කොහොමද කියලත් දැනගත්තා. දැන් ඒ සම්බන්ධයෙන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. සමහර දන් දෙන අවස්ථාවලදි ඒ දානය පිළිගන්න භික්ෂූන් වහන්සේලා ඒ වෙලාවට ගාථාවක් දේශනා කරනවා. සමහර තැන්වල "ඉමං භික්ඛං සපරික්ඛාරං බුද්ධ ප්‍රමුඛස්ස සකලස්ස භික්ඛු සංඝස්ස දේම" කියන වචන ටික කියල තමයි මේ දානය පූජා කරවන්නෙ. මේ වචන පෙළේ සරල තේරුම තමයි, මේ ගෙනා දානය සහ සියලු පිරිකර, බුදුන් ප්‍රමුඛ භික්ෂු සංඝයා උදෙසා පූජා කරමි කියන එක. ඉතින් කෙනෙකුට හිතෙන්න පුළුවන්, අපි කොහොමත් භික්ෂු සංඝයා උදෙසාම තමයි මේ දානය ගෙනාවෙ, ඒක අමුතුවෙන් එහෙම කියන්න ඕනද කියල.

මේ දානය ගෙනා අය අතර මේ ගැන නොදන්න අය ඉන්න පුළුවන්. ඒ නිසා ඒ විදිහට ශබ්ද නගා කියවීම ඒ අයටත් මහත් උදව්වක් උපකාරයක් වෙනවා. දානය පිරිනමන කොට කොහොම ගෙනාවත්, එහෙම ගෙනාපු අය වචනයෙන් ඒ විදිහට කියන එක කොහොමත් හොඳයි. නැත්නම් ඒ අදහස එන විදිහට හිතෙන් හිතන්නත් පුළුවන්. ඒ අතපසු වීම වලක්වන්න තමයි දානයට සහභාගි වන භික්ෂූන් වහන්සේලා මේ වචන පෙළ කියල දෙන්නෙ. එතකොට කාටවත් මග හැරීමක් නෑ. ඒක භික්ෂූන් වහන්සේලා නෙවෙයි, දායකයො තමයි කියන්න ඕන. නමුත් දායකයන්ට ඒ වචන පෙළ මතක නැති නිසයි භික්ෂූන් වහන්සේලා ඒක මතක් කරල දෙන්නෙ.

ඒ වගේම සමහර තැන්වල "තුන් කල් භික්ෂු සංඝයා ප්‍රමුඛ" එහෙම නැත්නම් "ත්‍රෛයිකාලික මහා සංඝයා ප්‍රමුඛ" කියලත් කියනවා. තුන් කල් කියල කියන්නෙ අතීත, වර්තමාන සහ අනාගත කියන කාල තුන. අතීත කිව්වම කලින් තත්පරය ගන්නත් පුළුවන්, කලින් විනාඩිය ගන්නත් පුළුවන්. කලින් පැය, කලින් දවස ආදී වශයෙන් ඕන තරම් දුරට ගන්න පුළුවන්. වර්තමානයත් එහෙමයි. මේ මොහොත, මේ විනාඩිය, මේ පැය, මේ දවස, මේ මාසය කියල ඕන තරම් දිගට ගන්න පුළුවන්. අනාගතයත් එහෙමයි. නමුත් මෙතනදි තුන් කල් කියල ගන්නෙ බුද්ධ සාසනය ගැන හිතල. වර්තමාන බුද්ධ සාසනය කියන්නෙ ගෞතම බුද්ධ සාසනය. අතීත කිව්වම කාශ්‍යප බුද්ධ සාසනය ඇතුළු පෙර සියලු බුද්ධ සාසන ගන්න පුළුවන්. ඒ වගේමයි අනාගතය ගැන හිතන කොට මෛත්‍රී බුද්ධ සාසනය ඇතුළු මතු පහල වෙන සියලු බුද්ධ සාසන ගන්න පුළුවන්. එතකොට බුදු, පසේ බුදු, මහ රහත් ප්‍රමුඛ සියලු භික්ෂු සංඝයා අයිති වෙනවා.

ඒ වගේම වර්තමාන බුද්ධ සාසනයත් අතීත, වර්තමාන, අනාගත කියල බෙදල ගන්නත් පුළුවන්. බුද්ධ ප්‍රඥප්තියෙන් එන සියලු වැඩ සිටි භික්ෂුණී වහන්සේලා, භික්ෂුණීන් වහන්සේලා අතීත ලෙසත්, දැනට වැඩ සිටින සියලු භික්ෂුන් වහන්සේලා වර්තමාන ලෙසත්, මතුවට වැඩ සිටින සියලුම භික්ෂුන් වහන්සේලා, භික්ෂුණීන් වහන්සේලා අනාගත ලෙසත් මේ බුද්ධ සාසනයට අයිතියි. එහෙම හිතල දුන්නම, දානය දෙන මොහොතේ ගිහිව ඉන්න පින්වතෙක්ගෙ මහණ පිංකම ඒ මොහොතේ තිබිල, දානය දීල අවසන් වෙනකොට භික්ෂුණී වහන්සේ නමක් වෙන්න පුළුවන්. මේ විදිහට ගත්තම ඒ භික්ෂූන් වහන්සේටත් ඒ දාන වස්තුව අයිතියි. එතකොට දානය දෙන මොහොතේ උන්වහන්සේ අනාගත භික්ෂු සංඝ කියන කොටසට තමයි අයිති වෙන්නෙ. ඉතින් අද වුනත් භික්ෂු සංඝයා උදෙසා කියල දානයක් දෙනකොට ත්‍රෛකාලික / තුන් කල් කියල වචනවලින් නොකිව්වට ගැටළුවක් නෑ, කොහොමත් තුන් කාලයටම අයිති වෙනවා.

තවත් සමහර තැන්වල මේ වචන පෙළ මෙහෙමත් කියනවා "ඉමං භික්ඛං ආර්ය භික්ඛු සංඝස්ස දේම" දැන් එතනදි ප්‍රශ්නයක් එන්න පුළුවන්, අපි කොහොමද ආර්ය වෙච්ච අය තෝර ගන්නෙ කියල. ආර්ය වෙන්න නම් චතුරාර්ය සත්‍යය අවබෝධ වෙන්න ඕන. එතැන් පටන් තමයි ආර්ය වෙන්නෙ. ඒ කියන්නෙ සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන්. එතකොට ඊට මෙහා ඉන්න භික්ෂූන් වහන්සේලාට, එහෙම නැත්නම් කළ්‍යාණ පෘථජ්ජන කියන කොටසට වැටෙන භික්ෂූන් වහන්සේලාට මේ දානයට හිමිකමක් නැතිව යනවා. එතකොට ඒක "සංඝයා උදෙසා" කියන කොටසට වැටෙන්නෙ නැතිව යනවා. ☞

ඒක පුද්ගලික දානයක් වෙනවා. හේතුව මුළු භික්ෂු සංඝයාම කොටු නොවෙන නිසා. මොකද කෙනෙක් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගෙන මහණ වෙන්නත් පුළුවන්, තවත් සමහරු ශ්‍රද්ධාවෙන් මහණ වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් පාරමිතා පුරන්න මහණ වෙන්නත් පුළුවන්. ඒ නිසා පොදුවේ ආර්ය කොටස නොකියා, භික්ඛු සංඝස්ස කිව්වම මේ සියල්ලම අයිති වෙනවා. ඒ වගේම අනාගතයේ පහල වෙන කාසාව කන්ඨකයොත් අයිති වෙනවා.

මෙතනදි අවබෝධ කරගත යුතු කාරණය තමයි, **භික්ඛු සංඝයා සහ ශ්‍රාවක සංඝ කියන්නෙ කොටස් දෙකක්.** ලෝක සම්මතයෙන් බුදුන් වහන්සේ පටන් පැවිදි වෙච්ච සියලුම භික්ෂූන් වහන්සේලා අයිති වෙන්නෙ මේ භික්ඛු සංඝයා කියන කොටසට. මෙන්න මේ කොටසට දන් දුන්නම තමයි ලොව්තුරා බුදුන් වහන්සේටත්, සියලුම භික්ෂු සංඝයා වහන්සේලාටත් දුන්න වෙන්නෙ. සාසනයේ ලිංග අන්තර්දානය කියල ගන්නෙ මෙන්න මේ කොටස අතුරුදන් වුනාම. බුද්ධ ප්‍රඥප්තියෙන් සිවුරු දරාගෙන ඉන්න කොටස තමයි ඒ කොටසට අයිති වෙන්නෙ. ඊළඟට ශ්‍රාවක සංඝ කිව්වම අයිති වෙන්නෙ අට්ඨ පුරිස පුග්ගලා කියන උතුමන් විතරයි. ඒ කියන්නෙ මාර්ග අනුගාමිකයන් හතර දෙනා සහ ඵලලාභීන් හතර දෙනා. ඒ යටතට ගිහි පැවිදි මාර්ගඵල ලාභීන් සියලු දෙනාම අයිතියි. දැන් කෙනෙක් තර්ක කරන්න පුළුවන්, ගිහිව ඉන්න ආර්ය උතුමෙකුට දුන්නත් සංඝයා උදෙසා කියල ගන්න පුළුවන් නේද කියල. නමුත් එහෙම ගන්න බෑ. මොකද හේතුව, බුද්ධ ප්‍රඥප්තියක් තියෙනවා. සිවුරක් දරන ලෝක සම්මත ක්‍රමයක් තියෙනවා. ඒ ක්‍රමයට අනුව එන භික්ෂූන් වහන්සේලාට දන් දුන්නම තමයි සංඝයා උදෙසා දුන්න වෙන්නෙ. නැත්නම් ඒක අයිති වෙන්නෙ පුද්ගලික දානයක් හැටියට.

ඒ වගේම දැන ගන්න ඕන තවත් වැදගත් කාරණයක් තමයි දානයේ පිරිසිදුකම. හැබැයි මෙතනදි කියන්නෙ දාන වස්තුව පිළියෙල කරනකොට තියෙන්න ඕන බාහිර පිරිසිදුකම ගැන නෙවෙයි, අපි ඒ දානය දෙන්න අවශ්‍ය දේවල් ලබාගත්ත විදිහ. කොටින්ම කිව්වොත්, දැහැමි දාන වස්තුව ගැනයි මේ කියන්නෙ.

මහණෙනි, මේ දක්ෂිණා විසුද්ධීහු හතර දෙනෙකි. කවර සතර දෙනෙක්ද යත්,

මහණෙනි, දායකයන් මිස පිළිගාවන් (ප්‍රතිග්‍රාහකයන්) කෙරෙන් පිරිසිදු නොවන දක්ෂිණායෙක් ඇත. මහණෙනි, පිළිගාවන් මිස දායකයන් කෙරෙන් පිරිසිදු නොවන දක්ෂිණායෙක් ඇත. මහණෙනි, දායකයන් කෙරෙන් වේවයි, පිළිගාවන් කෙරෙන් වේවයි පිරිසිදු නොවන දක්ෂිණායෙක් ඇත. මහණෙනි, දායකයන් කෙරෙනුත් පිළිගාවන් කෙරෙනුත් පිරිසිදු වන දක්ෂිණායෙක් ඇත. (<u>දක්ඛිණාවිසුද්ධි සූත්‍රය</u> - චතුක්ක නිපාතය - අපණ්ණක වර්ගය - අංගුත්තර නිකාය - 2)

දැහැමි දාන වස්තුවෙදි වැදගත් වෙන්නෙ දායකයා කෙරෙන් පිරිසිදු කියන කාරණය. මොකද දන් දෙන අපි තමයි ඒ කොටසට අයිති වෙන්නෙ. අපිට දානය ලබන කෙනාගෙ පිරිසිදුකම හොයන්න බෑ. ඒක අපිට අදාල නැති පැත්තක්. දන් දෙන්නෙ පොදුවේ භික්ෂු සංඝයා උදෙසා කියල. ඒ අනුව දන් දෙන කෙනා මේ දාන වස්තුව කොහොමද උපයන්නෙ කියන කාරණයයි වැදගත්. කෙනෙක් තව කෙනෙක්ව තලල පෙලල හරිහම්බු කරපු සල්ලිවලින් දානයක් දෙන්න පුළුවන්. එතකොට ඒ දානය දායකයගෙ පැත්තෙන් පිරිසිදු නෑ. ඉතින් අපි දැහැමිව උපයන්නෙ කොහොමද? ලොව්තුරා බුදු පියාණන් වහන්සේගෙ දේශනාවකින්ම ඒ ගැන විමසා බලමු. උන්වහන්සේ, නොකළ යුතු කර්මාන්ත කීපයක් පැනෙව්වා.

මහණෙනි, උවසුහු විසින් අකරණිය (නොකටයුතු) මේ වෙළඳාම් පසෙකි. කවර පසෙක යත්, සත්ත වාණිජ්‍යය (සත්ත්ව හිංසා පිණිස වූ අවි වෙළඳාම), සත්ත්ව වාණිජ්‍යය (වහල් වෙළඳාම ඇතුළුව), මංස වාණිජ්‍යය (මස් පිණිස සතුන් වෙළඳාම), මද්‍ය වාණිජ්‍යය (මත්පැන් හා මාදක ද්‍රව්‍ය වෙළඳාම), විස වාණිජ්‍යයි (වස වෙළඳාම). මහණෙනි, උවසුහු විසින් නොකටයුතු මේ වෙළඳාම් පසයි. (<u>වණිජ්ජා සූත්‍රය</u> - උපාසක වර්ගය - පඤ්චක නිපාතය - අංගුත්තර නිකාය - 3)

එතකොට උන්වහන්සේ අපට නොකළ යුතු වෙළඳාම් පහක් පෙන්නුවා. මේ වෙළඳාම් ගැන විශේෂ විග්‍රහයක් 13 වන කලාපයේ පළ කරල තියෙනවා.

මේ වෙළඳාම් පහෙන් උපයන මුදලකින් දෙන දානයක් කිසිම දවසක දායකයගෙ පැත්තෙන් පිරිසිදු වෙන්නෙ නෑ. එහෙම දානයක් දෙන කෙනෙක් ඒ නිසා නිග්‍රහ ලබන්නත් හේතු වෙනව කියල ධර්මයේ පෙන්වා තියෙනවා. ඒ වගේම දානයක් දීපු නිසා පුණ්‍යානිසංසයකුත් ලැබෙනවා. මේ දෙකම සිද්ධ වෙනවා.

ඒ වගේම මේ වෙළඳාම්වලට කෙලින්ම සම්බන්ධ නැතත්, මේවා කරන්න, කරවන්න උදව් කරමින් අනුබල දෙමින්, ඒ වෙළඳාම් වර්ණනා කරමින් මුදල් උපයා දෙන දානත් කිසිම පිරිසිදුකමක් නෑ. ඒවා දැහැමිව උපයන කොටසට අයිති වෙන්නෙ නෑ. එහෙම අයිති නොවෙන්න හේතුවක් තියෙනවා. මොකද ඒවා අසාධාරණයෙන් හරිහම්බ කරන මුදල්. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ දේශනා කළ දෙයක් තමයි දස අකුසලයෙන් වෙන් වෙලා ඉන්න කියන එක. ඒ දස අකුසල් කිරීම තමයි බලවත්ම පාපය. ඊට පස්සෙ කරවීම, අනුබල දීම සහ වර්ණනා කරන එකත් අයිති වෙනවා. කැලේට ගිහින් සත්තු මරල විකුණල සල්ලි ගන්න දඩයක්කරුවෙක් ඉන්න පුළුවන්. ඒ සල්ලිවලින් ගත්ත දෙයකින් දානයක් දෙන්නත් පුළුවන්. ඒ දානය අර දායකයගෙ පැත්තෙන් පිරිසිදු වෙන්නෙ නෑ. මොකද ඔහු කෙලින්ම ප්‍රාණඝාතයෙන් ඒ මුදල් උපයපු නිසා. ඒ වගේම ඒ දඩයක්කරුවට අත් උදව් දෙන කෙනෙක් ඉන්න පුළුවන්. ඔහු උගුල් අටවන්න, ඒවට විස පොවන්න උදව් වෙන්න පුළුවන්. තවත් සමහරෙක් ඉන්න පුළුවන් ඒ වැඩේ වර්ණනා කරන. මිනිහ තමයි වැඩකාරයා, එක වෙඩිල්ලෙන් සතා බිම... මේ ආදී වශයෙන් ඒවාට උදව් කරල වර්ණනා කරල ගන්න සල්ලිත් පිරිසිදු නෑ.

එතකොට කෙනෙක් මේ වෙළඳාම් වලට සම්බන්ධ නැතුව උපයන මුදලක් කෙලින්ම පිරිසිදු වෙනවද? කෙනෙකුට හිතෙන්න පුළුවන්, මම වැඩ කරන තැන එහෙම අසාධාරණයෙන් තමයි සල්ලි හොයන්නෙ, ඒත් මට පඩි ලැබෙන්නෙ ඒවා කරල නෙවෙයිනෙ, එහෙම ගන්න සල්ලිවලින් දෙන දානයක් මගේ පැත්තෙන් අපිරිසිදුද කියල. බොහෝවිට මේ වෙළඳාම් කරන තැනක වැඩ කරන සේවකයෙක් ඉන්න පුළුවන්. ඔහු ගොඩනැගිලි පිරිසිදු කරන කෙනෙක් වෙන්න පුළුවන්. එතකොට ඔහු ධනය ☞

උපයන්නෙ ඒ ගොඩනැගිල්ල පිරිසිදු කරල මිසක් අර වෙළඳාම්වලට සම්බන්ධ වෙලා නෙවෙයි. එහෙම උපයන කෙනෙක් දානයක් දුන්නොත්, ඒ දානය දායකයගෙ පැත්තෙන් අපිරිසිදු වෙන්නෙ නෑ. ඒ පුද්ගලයගෙ රස්සාව ප්‍රාණඝාතයට සම්බන්ධ නෑ. රස්සාවක් වශයෙන් ඒක පිරිසිදුයි. හැබැයි ඒ පුද්ගලයට ඒ ස්ථානය මුල් කරගෙන කරන සත්ත්ව හිංසාවන් කෙරෙහි කැමැත්තක් ඇති වෙලා ඒ රස්සාව කළා නම් එහෙම පිරිසිදු වෙන්නෙ නෑ.

හැම දේටම මුල් වෙන්නෙ හිත. ධම්ම පදයේ යමක වග්ගයේ එන පහත ගාථාව මේ සම්බන්ධයෙන් වැදගත් සාක්ෂියක් පෙන්වනවා.

මනෝ පුබ්බං ගමා ධම්මා
මනෝ සෙට්ඨා මනෝමයා
මනසා චේ පසන්නේන
භාසතිවා කරෝතිවා
තතෝ නං සුඛ මං වේති
ඡායාව අනපායිනී

ප්‍රසන්න මනසකින් පටන් ගන්න දෙයක් කොච්චර ශ්‍රේෂ්ඨ වෙනවද, ඒ අනුව කරන වැඩ කටයුතු සාර්ථක වෙන හැටි තමයි මේ ගාථාවෙ තියෙන්නෙ (මේ ගැන සම්පූර්ණ විස්තරයක් හෙළ බොදු පියුම 34 වෙනි කලාපයේ, "ධම්ම පදය තුලින් නිවන් මග" කියන ලිපියෙන් ඉදිරිපත් කරල තියෙනවා.) ඉතින් ප්‍රසන්න මනසක් කියල කිව්වෙ, නුවණින් ගුණයක් දැක්කම හිතට එන සතුට. ඒ සතුට එන දෙවිදියක් තියෙනවා. එකක් ගුණයක් දැකල එන සතුට, අනෙක තමන් උපයාගත් ධනය කොතරම් දැහැමිවද ඉපයුවේ කියන කාරණය දැකල එන සතුට. මේ දෙකම සම්පූර්ණ වුනාම මහා බලවත් සිත් පෙළක් ක්‍රියාත්මක වෙනවා. කොච්චර බලවත්ද කියනව නම්, නිවන් දකින ජාතිය දක්වා දුගතියක් නම් ලැබෙන්නෙ නෑ. ඒ පිළිබඳ සාක්ෂි ඕන තරම් අපදාන පාළියේ තියෙනවා.

ඒ වගේම කොච්චර ධනය දැහැමිව හෙව්වත්, කෙනෙක් දන් දෙන හේතුව මත ඒකෙන් ලැබෙන ආනිසංස වෙනස් වෙන්න පුළුවන්, අඩු වැඩි වෙන්න පුළුවන්. මේකට හොඳම උදාහරණයක් පෙළ දහමෙම තියෙනවා. මහා ධනස්කන්ධයක් වියදම් කරල ජේතවනාරාමය හදල පූජා කරපු අනේපිඬු සිටුතුමාට දෙව්ලොව පහල වුනේ රිදී විමානයක්. නමුත් කිසිම ධනයක් වියදම් නොකරපු, මේ සිද්ධිය බලන් හිටපු, ඒ වෙනුවෙන් සාදුකාර දීපු දුගී මනුස්සයෙකුට රත්තරන් විමානයක් පහල වුනා. එහෙම වුනේ කොහොමද කියල හිතෙන්න පුළුවන්. මේ කුසල් සිත් පහල වන ක්‍රම ගැන පසුගිය ලිපියේ පළ වුනා. දැන් මෙතනදි පහල වෙන බලවත්ම සිත හැටියට ගැනෙන්නෙ සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත. ඒ සිතත් උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක කියල කොටස් තුනකට බෙදෙනවා. උත්කෘෂ්ට සිත තමයි බලවත්ම සිත.



ඉතින් ඒ මොහොතේ ඒ දෙන්නට ඇති වෙච්ච සතුට වෙනස් වෙන්න පුළුවන්. පහළ වුන විමාන දෙකේ වෙනස බැලුවම ඒ කාරණය පැහැදිලියි. එකක් රිදී, අනෙක රිදීවලට වඩා මහත් වටිනාකමක් ඇති රත්තරන් විමානයක්. අනේපිඬු සිටුතුමා ඒ දානය දෙන මොහොතෙ සාසනය කෙරෙහි කොච්චර පැහැදිලා හිටියත්, සෝවාන් වෙලා හිටියත්, ගුණය දැක්ක ප්‍රමාණය අඩු වෙන්න ඇති, ඥානය සමග යෙදීම අඩු වෙන්න ඇති. මහත් ශ්‍රද්ධාවෙන් දුන්න මිසක් ඥානය මුසු වෙච්ච ප්‍රමාණය අඩු වෙන්න පුළුවන්. නමුත් අර කිසිම දෙයක් නොකර සතුටු වුන කෙනා ලොව්තුරා බුද්ධ සාසනය රත්තරන් හා සමානව දකින්න ඇති. ඒ කියන්නෙ මහා ගුණස්කන්ධයක් විදිහට දකින්න ඇති. සමහරවිට ඔහු අනේපිඬු සිටුතුමාටත් වඩා ඒ ගුණයේ පිහිටපු ආර්යෙක් වෙන්නත් පුළුවන්. ධර්මයේ සඳහන් වෙනවා, චතුරාර්ය සත්‍යය අවබෝධ වුන උතුමෙක් දානයක් වගේ පුණ්‍ය කර්මයක් කරනකොට, ඒ මොහොතේ ඔහුට පුණ්‍ය ගංගා කුසල ගංගා ගලනව කියල. ගඟක් ගලන්න නම් මහා වැස්සක් එන්න ඕන. පොඩි පොද වැස්සකට ගංගා උතුරල ගලන්නෙ නෑ. ඒ අනුව ඔය වෙනස ඇති වුනා වෙන්න පුළුවන්.

එතකොට මේ සියළු වෙනස් වීම්වලට ඉන්ද්‍රිය විවිධත්වය කියන කාරණය බලපානවා. ශ්‍රද්ධා ඉන්ද්‍රිය, වීර්ය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය, ප්‍රඥා ඉන්ද්‍රිය කියන මේ පහෙන් ප්‍රඥා ඉන්ද්‍රිය තමයි බලවත්. ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් කෙනාට නැගෙන බලයත් වැඩියි. පිනක් කළත් ඒ වගේ. ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් නිසා සාසන ගුණයත් වැඩියෙන් වැටහෙනවා. එතකොට අර පැත්තක ඉඳගෙන සාදුකාර දීපු දුගියගෙ ප්‍රඥා ඉන්ද්‍රිය සමහරවිට බලවත් වුනා වෙන්න පුළුවන්. තවත් කාරණයක් තමයි, කෙනෙක් දානයක් දෙන හේතු. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ මේ හේතු අටකට වෙන් කරල පෙන්නුවා.

මහණෙනි, මේ දාන වස්තූහු අටෙකි. කවර අටෙක්ද යත්,

ඡන්දයෙන් දන් දෙයි. ද්වේශයෙන් දන් දෙයි. මෝහයෙන් දන් දෙයි. ගැරහීම් බියෙන් දන් දෙයි. පියමුතුන් විසින් දුන් විරූය කළ විරූ ය පැරණි කුලවංසය පිරිහෙන්නට නො සුදුස්සෙමියි දන් දෙයි. මම මේ දන් දී කාබුන් (කය බිඳීමෙන්) මරණින් මතු මනා ගති ඇති ස්වර්ග ලෝකයෙහි උපදින්නෙමි යි දන් දෙයි. මේ දන් දෙන මාගේ සිත පහදියි අත්තනතා සංඛ්‍යාත සොම්නස උපදී යයි දන් දෙයි. සිතෙහි අලංකාරය හා චිත්ත පරිෂ්කාරය පිණිස දන් දෙයි. මහණෙනි, මේ වනාහි දාන වස්තු අටයි. (දානවත්ථු සූත්‍රය - දාන වර්ගය - අංගුත්තර නිකාය 5)

ඉතින් මේ කොටස් අට සරලව බලනව නම් මෙහෙමයි,

1. රාගයෙන් දන් දීම
2. ද්වේශයෙන් දන් දීම
3. මෝහයෙන් දන් දීම
4. කවුරුහරි ගරහයි බනියි, එහෙම නැත්නම් බැනුම් අහන්න වෙයි කියන බයට දන් දීම
5. අපේ මුතුන් මිත්තන් කරගෙන ආපු සිරිතක් නිසා ඒ සිරිත නවත්වන්න බෑ කියල ඒ සිරිත අනුව දන් දීම

6. මරණින් මතු දෙව් ලොව ඉපදීම සඳහා දන් දීම
7. මගේ සිත පැහැදේවා, සතුට ඇති වේවා කියල දන් දීම
8. නිවන් පිණිසම, චතුරාර්ය සත්‍යය අවබෝධය පිණිසම උපනිශ්‍රය වේවා කියල දන් දීම

ඉතින් ඔය ආකාරයට දන් දීමෙන් ලැබෙන විපාකත් වෙනස්. හේතුඵල දහම අනුව, දන් දීල බලාපොරොත්තු වෙන දේ තමයි ලැබෙන්නෙ.

ඒ වගේම හිතේ ඇති වෙන අදහස් අනුවත් දානයේ ප්‍රතිඵල වෙනස් වෙන්න පුළුවන්. කෙනෙක් ත්‍රිහේතුකව දන් දෙනවා. ත්‍රිහේතුකව කිව්වෙ අලෝභය, අද්වේශය, අමෝහය මූලික කරගෙන ඒ අනුව සිතේ ඇතිවන ස්වභාවය. සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත කිව්වම කොහොමත් ත්‍රිහේතුකයි. සෝමනස්ස සහගත වුනාම අලෝභ, අද්වේශ එනවා. ඥාන සම්ප්‍රයුක්ත වුනාම අමෝහත් එකතු වෙනවා. ඉහතින් සඳහන් කළ 6, 7, 8 කියන කොටස් මේ යටතට ගන්න පුළුවන්. හැබැයි එතනින් 8 වන අවස්ථාව තමයි ලෝකෝත්තර වෙන්නෙ. අනෙක් දෙක ලෞකිකයි.

දෙවියෙක් වෙන්න නිකං බෑ. ඒ දේව ගතියට නැමෙන්න ඕන. ඒ ජාතිය ගොඩ නගන්න නම්, ඒ සඳහා අවශ්‍ය ශක්තියක් තියෙනවා. ඒ ශක්තිය අනිවාර්යෙන් ත්‍රිහේතුක වෙන්න ඕන. ඒ කියන්නෙ ඒ සිතිවිල්ල අලෝභය, අද්වේශය සහ අමෝහය මිශ්‍රව එන්න ඕන. අලෝභය කියන්නෙ තමන් සතු දෙයක් දීමට තියෙන කැමැත්ත. අද්වේශය කිව්වම ඒ කැමැත්තට තමන්ගෙන් කිසිම බාධාවක් එන්නෙ නැතිව තියෙන්න ඕන. ඒ කියන්නෙ අදහස් දෙකක් තියෙන්න බෑ. දෙන්න හිතෙනවා, නැවත නොදී ඉන්නත් හිතෙනවා. ඒ කැමැත්තට විරුද්ධව ආපු දේකට ගැටුන නිසා එහෙම හිතෙන්න පුළුවන්. ඒ කියන්නෙ, මුන්ට දීල වැඩක් නෑ කිසිම ගුණයක් නෑ මගේ දේවල් නිකං විනාස වෙනව කියල ඒ වගේ අදහසක් එන්න පුළුවන්. එහෙම නැත්නම් කාගෙ හරි අණ පැනවීම නිසා දානයක් දෙන්නත් පුළුවන්. එතකොට තමන් කැමැත්තෙන් නෙවෙයි දන් දෙන්නෙ. කොටින්ම කියනව නම්, දීල වැඩක් නෑ කියල හිතෙනවා. ඒක ද්වේශයට වැටෙනවා. දෙන්න හිතල තමන්ගෙ නැතිබැරිකම නිසා තමන්ට නැතිවේය කියල නොදීම ලෝභයක්. මේ අවස්ථා දෙකටම මෝහය මිශ්‍රයි. මේ අවස්ථා දෙකේදීම උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත හිත් තමයි යෙදෙන්නෙ.

මේ එකක්වත් අකුසල් සිත් නෙවෙයි. මොකද අකුසල් සිතකින් දන් දෙන්න බෑ. නමුත් ලෝභ, ද්වේශ, මෝහ උපනිශ්‍රය වෙන්න පුළුවන්, පරිවාර වෙන්න පුළුවන්. එහෙම නැතිව 100% ක්ම ලෝභ හෝ ද්වේශ හෝ මෝහ සිතකින් දන් දෙන්න බෑ. ඒ කියන්නෙ ලෝභයෙන් ද්වේශයෙන් දන් දෙනව කිව්වම ඒ අකුසල් සිත් එකට යෙදෙන්නෙ නෑ. ඒ වගේම අකුසල් සිත් එක්ක කුසල් සිත් එකට යෙදෙන්නෙත් නෑ. දානය දෙන්න පෙර අකුසල් සිත් නැගුනත් දානය දෙන මොහොතෙදි හෝ කුසල් සිතක් නැගෙනවා. හැබැයි ඒක අන්තිම බාල කුසල් සිතක් වෙන්න පුළුවන්. ඒ නිසා කුසල් සිත්වලට අකුසල් සිත් පරිවාර වෙනව මිසක් එකට යෙදෙන්නෙ නෑ. එතකොට මේ කියන ඒවා බාල කුසල් සිත් ගණයට තමයි වැටෙන්නෙ. ද්වේශයෙන් දන් දෙනව කිව්වම ද්වේශයයි ලෝභයයි එකට යෙදෙන්නෙ නෑ. එක්කො ද්වේශ මෝහ එහෙම නැත්නම් ලෝභ මෝහ. ඒ නිසා දන් දෙනකොට නැගෙන බාල සිත් වුනත් උපේක්ෂා සිත් විදිහට තමයි පහළ වෙන්නෙ. ද්වේශයෙන් දන් දුන්නත් ඒ මොහොතට අලෝභය තියෙනවා. ලෝභයෙන් දන් දීම වෙනම හේතුවක්. සමහරවිට අහවලාට දුන්නම ලොකු ලැබීමක් එනව කියල කෙනෙක්ගෙ වචන විස්වාස කරල, ලෝභකම නිසාම ඒ ලැබීමට කෑදරකමින් කෙනෙක් දන් දෙන්න පුළුවන්. ඒත් දන් දීම කුසලයක්. කාගෙ හරි අණ කිරීම නිසා දෙන දානෙදි නැගෙන්නෙත් උපේක්ෂා සහගත ඥාන විප්පයුක්ත බාල කුසල් සිත්. ඒ කොහොම දුන්නත් දන් දීම පිනක්මයි. ඒකෙ ආනිසංසයි අඩු වෙන්නෙ.

මේකට හොඳ උදාහරණයක් තමයි බුද්ධ කාලයේ හිටපු ඒක සාටක බමුණා. ඔහු තමන් සතුව තිබුන එකම සාටකය බුදු පියාණන් වහන්සේට පූජා කරන්න මහත් සටනක් කළා. ඉස්සෙල්ලම දෙන්න කැමැත්ත ආවා, නැවතත් ගැටීමක් ඇවිත් නොදී ඉන්න හිතුනා. උදේ වෙනකල් ඒ සිතිවිල්ලත් එක්ක සටන් කළා. තමන්ට නැතිකම නිසා ලෝභ හිතක් තමයි ආවෙ. අවසානයේ ඥානය තුලින් දැකල ඒ එකම සාටකය දන් දුන්නා. නමුත් මුලින්ම දෙන්න හිතපු වෙලාවෙ නැගිච්ච හිත තරම්, දුන්න වෙලාවෙ හිත බලවත් නොවුන නිසා ලැබෙන්න තිබුන දේත් වෙනස් වුනා.

එතකොට යම් හිතක් ද්විහේතුක වෙන්නෙ කොහොමද? කෙනෙක් දන් දෙන්න කැමතියි. ඒත් ගුණයක් දකින්න තේරෙන්නෙ නෑ. කාටද දෙන්නෙ, ඇයි දෙන්නෙ කියල තේරෙන්නෙ නෑ. අලෝභය, අද්වේශය තියෙනවා. ඒත් මෝහයත් එක්ක මිශ්‍රයි. ඕන දෙයක් දෙනවා. කිසි ප්‍රශ්නයකුත් නෑ. ඒත් ගුණයක් දකින්න තේරෙන්නෙ නෑ. සමහර විට තමන්ගෙ කඩේ ළඟට පිණ්ඩපාතෙ වඩින හාමුදුරුවන්ට කිසිම හැඟීමක් නැතුව කඩේ තියෙන දෙයක් අරගෙන පාත්තරේට දානවා. අයියෝ හැමදාම උදේට එනවනෙ කියල ද්වේශයක්, තරහක් නෑ. දෙන්න ලෝබත් නෑ. ඒත් හාමුදුරුවො දැක්ක ගමන් පුරුද්දට වගේ වෙන කල්පනාවකින් හෝ වෙන කතාවක ඉන්න ගමන් හෝ කඩේ තියෙන මොකක් හරි දෙයක් අරගෙන පාත්තරේට දානවා. ඉතින් හේතු ඵල නිසා, දුන්න දේට ලැබෙනවා. නමුත් මෝහය මිශ්‍ර නිසා අඩුපාඩුවක් වෙන්න පුළුවන්. ලැබීම අඩු වෙන්න පුළුවන්.

මොන ක්‍රමයට දන් දුන්නත්, දෙන එක වළක්වන්න යන්න නරකයි. ඒකෙන් කවදහරි තමන්ටත් ලැබීම නැති වෙන්න පුළුවන්. ඒත් අපට පුළුවන් නම් ඒ දෙන අයව තවත් දැනුවත් කරන්න, ඒ අයට උදව් කරන්න, නුවණ පිහිටල දන් දෙන හැටි කියල දෙන්න, ඒක බොහොම වටිනවා. එතකොට ඒක සියලු දානවලට වඩා අග්‍ර ධර්ම දානයක් වෙනවා. විශේෂයෙන් දානයක් දෙන්න පෙර, ඒකෙ වටිනාකම ගැන විස්තර කරල දීල, අනෙක් අයත් ඒ සඳහා මෙහෙයවල දන් දුන්නම ධර්ම දානයත් සම්බන්ධයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග මජ්ඣිම නිකාය, උපරිපණ්ණාසපාළි, විභංග වර්ගයේ දක්ඛිණ විභංග සූත්‍රය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව
072-7536839

# කර්මස්ථාන තුළින් නිවන් මග 1



මේ දහම ප්‍රඥාවන්තයින්ටය, දුෂ්ප්‍රාඥයින් සඳහා නොවේ, දළ පැරකුම් ඇත්තාටය (වීර්ය ඇති බව), කුසීතයාට නොවේ... ආදී වශයෙන් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. භාවනා කරන්න කලින්, සද්ධර්ම ශ්‍රවනය කරල ආර්ය ශ්‍රාවකයෙක් වෙන්න ඕන. නියම ප්‍රඥාවන්තයෙක් වෙන්නෙ සිවු අරිසස් දැකීමෙන්. හේතු ඵල දහම දන්නෙ නැත්නම්, උපමා සංසන්දනය කරන්නෙ කොහොමද, එතකොට මේ පද වැලක් කිය කියා භාවනා කළා කියල නිවන් දකින්නෙ කොහොමද කියල කුකුසක් ඇතිවෙන්න පුළුවන්. ඒ නිසා ආර්ය නොවූ යම් කෙනෙක් මේ භාවනා වඩන කොට ඒ වගේ කුකුසක් ඇති වුනොත්, කල්‍යාණ මිත්‍රයෙක් හමුවෙලා ගැටළු නිරාකරණය කර ගැනීම අත්‍යවශ්‍යයි.

ලෝකයට අපි යමක් විසි කළොත් ඒක දරාගෙන ඉඳල ධර්මතාවයෙන් සුදුසු පරිසරය සකස් වුන වෙලාවක, ඒ විසි කළ දේට ගැලපෙන විපාකය ලබා දෙනවා. අපි හොඳ දෙයක් විසි කළොත් හොඳ විපාකයක් ලැබෙනවා, නරක දෙයක් විසි කළොත් නරක විපාකයක් ලැබෙනවා. තේරුම දැනගෙන සිහි කරගෙන කර්මස්ථාන සජ්ඣායනා කරනව කියන්නෙ හොඳ දෙයක්. කටපාඩම් කරනව කියල එකම දේ බොහෝ වාර ගණනක් කියනකොට ඒක අපේ මතකයේ රැඳෙනවා. ඊට පස්සෙ ඒක අපට ඕන වෙලාවක නැවත මතක් කරගන්න ලේසියි. එක වරක් කියපු දෙයක් නැවත මතක් කරගන්නවට වඩා බොහෝ වාර ගණනක් කියවීමෙන් නැවත මතක් කරගන්න පහසු වෙනවා. ඒ නිසා කර්මස්ථාන සජ්ඣායනා කිරීමෙන් මේ විදිහට නැවත මතක් කරගන්න පහසු වෙනවා.

උදාහරණ විදිහට, සියලු ලෝක සියලු සත්වයෝ සංසාර දුකෙන් මිදෙත්වා... කියල සජ්ඣායනා කළා නම් අන්න ඒක තමයි මතක් කරගන්න ඕන. එදිනෙදා කටයුතු කරන කොට අපිට මෙත් වඩන්න සිද්ධ වෙන අවස්ථා යෙදෙනවා. අන්න ඒ වෙලාවටයි ඒක සිහි කරගෙන ඒ වචනය කඩවෙන්න නොදී කටයුතු කරන්න ඕන. උදාහරණයක් විදිහට, ගෙදර දොරේ වැඩ කරගෙන යන අතරෙ දරුවා ගේ පුරාම ඇවිද ඇවිද ඉඳුල් හල හලා කෑම කනවා, කෑම මේසෙ ඉඳගෙන කෑම කන්න කිව්වට ඒක පිළිපදින්නෙ නෑ. දැන්, හොඳ නරක තේරෙන ළමයි නේද කියල ගේ අපිරිසිදු කිරීම ගැන තරහක් එනවා. සං සාරයි කියල ගත්තු අදහසින් ආව දුක් විපාක කොටසක් තමයි දරුවා කියන්නෙ. දරා ගන්න වෙන නිසයි දරුවා කියන්නෙ. මොකද තනියෙන් මුකුත් කරගන්න බෑ. ඉතින් තරහ අරගෙන වැඩක් නෑ. තරහ කියන්නෙ ද්වේශයේ මුල. ද්වේශයෙන් හොඳ විපාකයක් එන්නෙ නෑ. තරහ නොගෙන ඉවසීමෙන් දරුවා හරි මගට ගන්න උත්සාහ කරන්න ඕන.

සංසාර දුක මොකක්ද... සංසාර රෝගය මොකක්ද... ආදී වශයෙන් සියල්ලම මතක තියාගන්නවට වඩා අර්ථය අවබෝධ කරගත්තම මතක තියා ගන්න පහසුයි. තේරුම දැනගෙන පද සජ්ඣායනා කරල, එදිනෙදා කටයුතු කරන අතරෙ මේවා සිහි කර කර කටයුතු කරන එක අමාරු වෙන්න පුළුවන්. නමුත් කර්මස්ථානය වැඩෙන්නෙ, රාග, ද්වේශ, මෝහ දුරු වෙන්නෙ, ඒ විදිහට කටයුතු කිරීමෙන් බව තේරුම් ගන්න ඕන. කිව්ව දේ ක්‍රියාවෙදි නැත්නම් යථාවාදී තථාකාරී කියන ගුණය නෑ. නිවන් දකින්න නම් බුදු ගුණ වැඩෙන්න ඕන. බුදු ගුණ වැඩෙනව කියන්නෙ රාග, ද්වේශ, මෝහ දුරුවීම. ඒ නිසා ඕනෑම කර්මස්ථානයක් වඩනව නම් ඒකෙ අර්ථය හොඳින් වටහාගන්න ඕන, ඒ අර්ථයට අනුව එදිනෙදා කටයුතු කරගෙන යන්න ඕන.

ඒ නිසා සංසාර දුකෙන් මිදෙත්වා කිව්වම, යමක් නිසා සසර දුක ආව නම් ඒක වහාම අඳුන ගන්න ඕන. සංසාර රෝගයෙන් මිදෙත්වා කියල ගන්නකොට, සංසාරය රෝගයක් වගේ අඳුනගෙන මේ සසර රෝග ගොඩ නගන්නෙ මේ නිසානෙ කියල එවෙලෙම විදර්ශනාවට නැගෙන්න ඕන. ප්‍රඥාවෙන් තමයි ඒක දකින්නෙ. එතකොට අමුතුවෙන් වචන කිව්වෙ නැතත් ඒ අදහස එනවා. නමුත් මූලිකව අභ්‍යාසයක් වශයෙන් ප්‍රගුණ කළාම රෝගයක්, බයක්, දුකක්, සංවේගයක් ආවොත් ඒ අනුසාරයෙන් සසරෙ හැටි මෙහෙමයි, භයානකයි කියල දකිනවා. එතකොට ආස්වාද සියල්ලම භයානක පැත්තට වැටෙනවා. ඒත් එක්කම දුක්ඛං භයට්ඨේන කියල බය අර්ථයෙන් දුක දකිනවා. දුක්ඛ සත්‍යය තවදුරටත් අවබෝධ වෙනවා.

විදර්ශනා වඩන ආකාරයත් පැහැදිළි කරගන්න ඕන. විදර්ශනා කරනව කියන්නෙ එදිනෙදා ජීවිතයෙදි මුණගැහෙන අරමුණුවල යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ වශයෙන් දකින්නත්, ඒවා තමන්ගෙ ජීවිතයට උපමා කරල, කැමති සේ පවත්වන්න බැරි, ඒ හේතුවෙන් දුක් ගෙන දෙන අසාර දේවල් කියල නුවණින් දකින්නත් පුරුදු වීම. අපි මෙච්චර කාලයක් අරමුණු දිහා බලන්න පුරුදු වෙලා හිටියෙ නිච්ච (කැමති

සේ පවතින) සුඛ (ආස්වාද ගෙනෙන) අත්ත (අවසානයෙදි වටිනා සාරවත් හරයක් දෙන) සුභ (යහපතක් සිද්ධ කරන) දේවල් හැටියට වුනත්, ඒවායේ සැඟවිලා තියෙන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ ස්වභාවයයි කියල තේරුම් ගන්න ඕන. උපමා සංසන්දනය කරල විදර්ශනා භාවනා වශයෙන් මල්, පහන්, හඳුන්කූරු පූජා කරන්නෙ කොහොමද කියල, හෙළ බොදු පියුම 20, 21, 22 කලාපවල විස්තර කරල තියෙනවා. ඒ වගේම පෙණ පිඩුව උපමා කරල බුදුන් වහන්සේ දේශනා කරපු කර්මස්ථානයකුත් 28 වන කලාපයේ විස්තර කරල තියෙනවා. ඒවා අනුසාරයෙන් මේ විදර්ශනා ක්‍රමය පැහැදිළි කරගන්න පුළුවන්.

ඉතාම වටිනා භාවනාවක් වන ආර්ය මෛත්‍රී භාවනාවෙ එන සංසාර දුක, සංසාර රෝගය... ආදී වශයෙන් කියවෙන්නෙ මොනවද කියන කාරණය හෙළ බොදු පියුම 59 සහ 60 කලාපවලින් විස්තර කළා. දිසා - අනු දිසා විස්තරය, "ආර්ය මෛත්‍රී භාවනාවෙන් ලබන සැනසීම" පොතේ රූප සටහන් සහිතව විස්තර කරල තියෙනවා.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර දුකෙන් මිදෙත්වා... කියන කාරණය තව විදිහකට කියනව නම්, මමද සියලු ලෝක සියලු සත්වයෝ අවිද්‍යාවෙන් මිදෙත්වා... කියල කියන්න පුළුවන් බවත් 60 වෙනි කලාපයෙන් පැහැදිලි කළා. ඒ විදිහට පටිච්ච සමුප්පාද ධර්මයේ සඳහන් කරුණු තමයි ආර්ය මෛත්‍රී භාවනාවෙදි මිදෙත්වා... මිදෙත්වා... කියල අපි පතන්නෙ. අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ ... ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ගෙන් මිදෙත්වා කියන්නෙ, අපි මේ සසරෙ බැඳි බැඳී යන පටිච්ච සමුප්පාද චක්‍රයෙන් මිදෙත්වා කියන එක. ඒකෙන් මිදුනොත් සසර ගමනින් මිදුන වෙනවා.

හැබැයි අනන්ත සංසාරෙ අපි අතින් අන්‍ය සත්වයින්ට සිද්ධ වෙලා තියෙන අවැඩ අසාධාරණයන්ට වන්දි ගෙවල නිදහස් වෙන්න ඒ විදිහට "මිදෙත්වා" කියල ප්‍රාර්ථනාවක් වශයෙන් කළත්, මජ්ජිම නිකායේ 3 වන කාණ්ඩයේ 399 පිටුවේ එන බද්දේකරත්ත සූත්‍රයේ පෙන්වා තියෙන විදිහට, නිවන් දකින්න නම් ඒ ඒ මොහොතේ විදර්ශනා කළ යුතුයි. "අතීත පංචස්කන්ධ තෘෂ්ණා දෘෂ්ටීන් අනුගමනය නොකරන්නේය. අනාගත පංචස්කන්ධ තෘෂ්ණා දෘෂ්ටීන් නොපතන්නේය. යම් හෙයකින් යමක් අතීතද එය ප්‍රහීණය. යමක් අනාගතද එය නොපැමිණියේය. යමෙක් ප්‍රත්‍යුප්පන්න වූ ඒ ධර්මය ඒ ඒ තැන්හි අනිච්චාදී වශයෙන් විදර්ශනා කෙරේද විද්වත් තෙමේ අසම්හීර වූ (බිය නැති) අසංකෝප්‍ය වූ (කෝප නැති) ඒ විදර්ශනාව වඩන්නේය."

දහම් අවබෝධ කරගෙන හුරු වෙච්ච අයට තමයි ඒ විදිහට වඩන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා ආර්ය මෛත්‍රී භාවනාව නිවන් දකින කර්මස්ථාන විදර්ශනාවක් විදිහට වඩන කොට, ඒ ඒ මොහොතේ මිදෙන අර්ථයෙන් "මිදෙනවා / මිදෙමි" ආදී වශයෙන් ගැනීමෙන් කර්මස්ථානය ප්‍රායෝගිකව වැඩෙනවා. හැබැයි එතකොට "සියළු ලෝක සියළු සත්ත්වයෝ" කියල භාවිතා කරන්නෙ නෑ. තමන් මිදෙන බවයි කියවෙන්න ඕන. ඒක ඉතින් ඒ ඒ කර්මස්ථානයේ ස්වභාවය අනුව තමයි භාවිතා කරන්න ඕන. උදාහරණ විදිහට "රාග ගිනි නිවි නිවී නිවන් සුව දැනේවා"... ආදී වශයෙන් කියන කර්මස්ථානය "රාග ගිනි නිවි නිවී නිවන් සුව දැනෙනවා" කියල විදර්ශනා කර්මස්ථානයක් විදිහට වර්තමාන මොහොතකට භාවිතා කරන්න පුළුවන්.

කෙටියෙන් කියනව නම්, ඒ මොහොතේ අවිද්‍යාවෙන් මිදෙනවා කියන අදහසයි ගන්න ඕන. හැබැයි ඒක කරන්න ඕන අවිද්‍යාව මතු වෙලා තියෙන වෙලාවක මිසක් හැම තිස්සෙම නෙවෙයි. වෙනත් විදිහකින් කියනව නම් රාගයෙන් මිදෙමි (මිදෙනවා), ද්වේශයෙන් මිදෙමි, මෝහයෙන් මිදෙමි කියල ගන්න ඕන. හැබැයි රාග, ද්වේශ, මෝහ අරමුණු වෙච්ච වෙලාවකයි එහෙම ගන්න ඕන. මොකද මනුස්සයින්ට හැම තිස්සෙම රාග, ද්වේශ, මෝහ අරමුණු එන්නෙ නෑ. එහෙම එන අවස්ථා තියෙනවා. ඒ අරමුණු නැගෙන අවස්ථාවක ඒකෙන් මිදෙනවා කියල ගත්තම තමයි නියම විදිහට බද්දේකරත්ත වෙන්නෙ. බද්ද ඒක රත්ත - බද්ද කියන්නෙ යමකට බද්ධ වෙනවා, එල්ල කරනවා කියන අදහස. ඒ කියන්නෙ එකම එල්ල කරගෙන කියන අදහස. රත්ත කියල කාල මාත්‍රයටත් කියනවා. දීඝ රත්තං කිව්වම දීර්ඝ කාලයක් කියන අදහස එනවා. එතකොට වර්තමාන මොහොතකට බැඳිල ඒ ඒ මොහොතෙ ඒ කාරණය එල්ල කරල විදර්ශනා කරල බැලීම තමයි බද්දේකරත්ත කියන එකේ අදහස වෙන්නෙ. ඒ කියන්නෙ ලෝකයෙන් මිදීමට බද්ද වෙනවා.

ඉතින් රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් මිදෙමි / මිදෙනවා කියල ඒ ඒ අවස්ථාව තුළ ගත්තම ඒක සියල්ලටම ගැලපෙනවා. මොකද මිදෙන්න පුළුවන් වෙන්නෙ ඒ ටිකෙන් විතරයි. එහෙම නැතිව අරිහත්වයට පත් වෙලා පිරිනිවන් පාන කල් මේ මස් ලේ කයින්, විපාක කයින් මිදෙන්න බෑ. ඒවා පිරිනිවන් පාන කල්ම තියෙනවා. හැබැයි කෙනෙකුට ඒ මොහොතෙ තියෙන දූෂ්‍ය විඤ්ඤාණයෙන් මිදෙන්න පුළුවන්. එහෙම නැතිව සියලු විඤ්ඤාණවලින් මිදෙන්න බෑ. ඒ නිසා මේ ක්‍රමය, යන එන කරන කියන හැම මොහොතකම ප්‍රායෝගිකව පුහුණු කරන අභ්‍යාසයක් වශයෙන් තමයි කරන්න ඕන. රාග, ද්වේශ, මෝහ නැගෙන මොහොතෙම ඒ විදිහට විදර්ශනා කරන්න ඕන. නිකං ඉන්න වෙලාවට කර්මස්ථාන වශයෙන් වැඩීමෙන් අභ්‍යාසයක් වශයෙන් ඒක කරන්න හිත හුරු වෙනවා. ප්‍රායෝගිකව කෙළෙස් නැගෙන කොටත් ඒක සිහි වෙන්න ගන්නවා.

හැබැයි මෙතනදි හේතු ඵල දකින්නත් ඕන. මේ හේතුවෙනුයි රාගය හට ගන්නෙ, මේ හේතුවෙනුයි රාගය පවතින්නෙ, මේකයි රාග නිරෝධය කියන්නෙ, මේ හේතු නිරෝධයෙනුයි රාග නිරෝධ වෙන්නෙ කියල ඒ වෙලාවෙ මෙනෙහි කරන්න ඕන. ඒ කියන්නෙ ඒ අවස්ථාව චතුරාර්ය සත්‍යයට බහා බලන්න ඕන. වෙනත් විදිහකින් කියනව නම් රාගය, රාග සමුදය, රාග නිරෝධය, රාග නිරෝධ මාර්ගය. රාගයක් එනකොටම ඒ කාරණා ටික මෙනෙහි වෙන්න ඕන. අවිද්‍යාව ගත්තත් අවිද්‍යාව, අවිද්‍යා සමුදය, අවිද්‍යා නිරෝධය, අවිද්‍යා නිරෝධ මාර්ගය. යමක් සුභයි කියල අදහස ආවොත් සුභ, සුභ සමුදය, සුභ නිරෝධය, සුභ නිරෝධ මාර්ගය.

හැබැයි මෙතනදි සුභයි කියල ගන්නෙ විපරීත දෘෂ්ටියෙන්. ඒ කියන්නෙ ලෝක සත්ත්වයා අසුභය තමයි සුභයි කියල ගන්නෙ. ලෝකයේ සුභයි කියන්නෙ අවිද්‍යාවෙන් ගන්න නිගමනයක්. ඒ නිසා මෙතනදි සුභ කියන්නෙ අවිද්‍යාව කියල දැන ගන්න ඕන. එතකොට සුභ සමුදය කියන්නෙ අවිද්‍යා සමුදය. සුභ නිරෝධය කියන්නෙ අවිද්‍යා නිරෝධය. සුභ නිරෝධ මාර්ගය කියන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය

හෙවත් අවිද්‍යා නිරෝධ මාර්ගය. එහෙම නැත්නම්, නිවනටත් සුභ කියන නිසා වැරදියට අදහස් ගන්න පුළුවන්. ඒ නිසා ලෝකය සුභයි කියල ගැනීමයි අවිද්‍යාව වෙන්නෙ. ලෝකය සුභ සමුදයයි කියල ගැනීම අවිද්‍යා සමුදය. ලෝකය සුභ නිරෝධයයි කියල (ලෝකය සුභයක් නෑ කියල) ගත්තොත් අවිද්‍යා නිරෝධය. ඒ සඳහා මාර්ගය වශයෙන් ගන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය.

අනිච්ච කිව්වමත් ඒ විදිහට තමයි අදහස් ගන්න ඕන. ලෝකය නිච්ච විදිහට ගැනීම අවිද්‍යාව. එහෙම නැත්නම් අනිච්ච නිච්චයි කියල ගැනීම අවිද්‍යාව. නිච්ච සමුදය කියන්නෙ අවිද්‍යා සමුදය. නිච්ච නිරෝධය කියන්නෙ (නිච්ච කියන දෘෂ්ටිය නිරෝධ වීම) අවිද්‍යා නිරෝධය. නිච්ච නිරෝධ මාර්ගයක් තියේ නම් අවිද්‍යා නිරෝධ කිරීමේ මාර්ගය. දුකත් එහෙමයි. දුක්ඛයේ සුඛ සංඥාව කියන්නෙ අවිද්‍යාව. දුක්ඛ සමුදය, සුඛ සමුදය හැටියට ගැනීම කියන්නෙ අවිද්‍යා සමුදය. සුඛ නිරෝධය, දුක්ඛ නිරෝධය හැටියට ගැනීම කියන්නෙ අවිද්‍යා නිරෝධය. සුඛ නිරෝධ මාර්ගය, ආර්ය අෂ්ඨාංගික මාර්ගය විදිහට ගැනීම කියන්නෙ අවිද්‍යා නිරෝධ මාර්ගය. මේ විදිහටම අනත්ත දකින්නත් ඕන. මේ හැම තැනකදිම ආර්ය අෂ්ඨාංගික මාර්ගය තමයි වැඩෙන්නෙ.

දැන් එතකොට අපි මෙතෙක් කල් මේ සැඟවුන බොදු මග එළි දකින කල් දැනගෙන හිටියෙ, මෛත්‍රී භාවනාව සමථ භාවනාවක්, ඒකෙන් නීවරණ සමථ වෙනව විතරයි, නිවන් දකින්න නම් විදර්ශනා කරන්න ඕන කියල. මේ ආර්ය මෛත්‍රී භාවනාවෙ විදර්ශනාවක් තියෙනව කියල දැනගෙන හිටියෙ නෑ. නමුත් බුද්ධ දේශනාවෙ එන <u>මෙත්තානිසංස සූත්‍රයේ</u> ආනිසංස 11 ක් පෙන්වනවා. **සුවසේ නිදයි. සුවසේ පිබිදෙයි. නපුරු හීන නොදකියි. මනුස්සයින්ට ප්‍රිය වෙයි. අමනුස්සයින්ට ප්‍රිය වෙයි. දෙවියන් විසින් ආරක්ෂා කරයි. ගිනි විස, වස විස, සැත් පහර නොවදියි. පහසුවෙන් සිත සමාධිගත වෙයි. මුහුණ පැහැපත් වෙයි. නුමුලාව කලුරිය කරයි. මෙලොවදී අරිහත් ඵලය නොලැබුවොත් බඹ ලොව ඉපිද එහිදිම පිරිනිවෙයි.**

මෙලොවදී අරිහත් ඵලය නොලැබුවොත්... කියන එකෙන් පැහැදිළි වෙන්නෙ, මේ භාවනාවෙන් අරිහත්වයට පත්වෙන්න පුළුවන් කියන එක. ඒක සිද්ධ වෙන්නෙ කොහොමද කියල ප්‍රඥාවෙන් දකින්න ඕන. නමුත් ඒ කාරණය මේ දහම දැන ගන්න කල්, මේ ආර්ය මෛත්‍රී භාවනාව අහල දැනගන්නකල් සැඟවිලා තිබුණෙ.



නිවන් දකින්න නම් ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දකින්න ඕන. සීල, සමාධි, ප්‍රඥා වැඩෙන්න ඕන. ණය නැති බව, වරදක් නැති බව කියන ගුණ පූර්ණ වෙන්න ඕන. ලෝකය කැමති සේ තියෙනව කියල හිතන කෙනෙකුට නම් නිවන් දකින්න ඕන කියල අදහසක්වත් එන්නෙ නෑ. සීල, සමාධි, ප්‍රඥා නැත්නම් සංවරත්වයක් නෑ. අසංවර හිත, කය, වචනය තමයි අපි මේ සසර ගමනෙ ඉදිරියට බැඳි බැඳී ගෙනියන්නෙ. අනන්ත සංසාරෙ අපි අතින් වැරදි අසාධාරණකම් කරල තියෙන සත්වයින්ටත්, ඒ ඒ අත්බැව්වලදි අපේ ජීවිත පවත්වාගෙන යන්න උදව් උපකාර ලබාගෙන තියෙන අයටත් වන්දි ගෙවල, නිවන් දකින්න බාධා එන විපාකවලින් නිදහස් වෙන්න කටයුතු කරන්න ඕන. ආර්ය මෛත්‍රී භාවනාව ඥාන සම්ප්‍රයුක්තව වැඩීමෙන් මේ කාරණා ඉෂ්ට වෙනව නම් නිවන් දකින්න පුළුවන් වෙනවා.

සංසාර දුක, සංසාර රෝගය... විස්තර කරත්දි ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන ඉන්ද්‍රියන් අනිච්ච දුක්ඛ අනත්ත වෙන ආකාරය පැහැදිලි කළා. ඒ වගේම රූපාදී අරමුණුත් ආස්වාද දෙන බවක් පෙන්නුවට ඒවා මායාවක් විතරයි, පූර්ණ වීමක් නෑ, සැනසීමක් දෙන්නෙ නෑ කියන කාරණයත්, ඒ මායාවට කොටු වුනොත් සතර අපා දුක් ගිනි විඳින්න සිද්ධ වෙන බවත් පෙන්නුවා. ඒ නිසා ආර්ය මෛත්‍රී භාවනාවෙන් කියවෙන දහම් අරුත වටහා ගත්තොත්, ලෝකය අනිච්ච දුක්ඛ අනත්ත අසුභ බව ප්‍රඥාවෙන් දකිනවා.

ලෝකය කිව්වෙ ඇස - රූප, කන - ශබ්ද, නාසය - ගන්ධ, දිව - රස, කය - පොට්ඨබ්බ, මන - ධම්ම කියන මේ ටිකට. සත්‍යය අවබෝධ වුනාම මෙච්චර කාලයක් රැස්කර ගත්තු වස්තුවලට කලින් දුන්න අගය අඩු වෙනවා, මේ කය කැමති සේ පවත්වන්න බැරි, දිරන, වැහැරෙන, පෙළීම, අසහනය නිසා දුක් දෙන, අසාර එකක් කියන කාරණය වැටහෙනවා. ඒ වගේ අසාර කයකට "මගේ" කරගෙන ආස්වාද විඳින්න වටිනා හරවත් කිසිවක් රූප, ශබ්ද, ගන්ධ... ආදී බාහිර ලෝකයෙත් නෑ, ඒවත් අනිච්ච දුක්ඛ අනත්ත ගොඩවල්මයි. මේ ලෝකයේ යථා ස්වභාවය අවබෝධ කර ගැනීම හේතුවෙන් ඒ ආර්ය ශ්‍රාවකයා තමන්ගෙ මට්ටමෙන් දස අකුසල්වලින් වැළකිලා ඉන්නවා. ඒ නිසා නොකැඩෙන, නොබිඳෙන, කැළැල් නැති, සිදුරු නැති පංච සීලයක් පිහිටනවා. පහාන සීලං, වේරමණී සීලං, චේතනා සීලං, සංවර සීලං, අවිතික්කම සීලං කියන සංවරත්වයේ පිහිටනවා. මේ සීලය පද වශයෙන් කියන, නියම කරගත් කාල සීමාවකට සමාදන් වෙන එකක් නෙවෙයි.

රත්තරං කියල හිතාගෙන, පරම්පරාවෙන් ලැබිල රැකගෙන ආව යම් ආභරණයක් උරගලේ ගාල රත්තරං නෙවෙයි කියල දැනගත්තම, ඒ ආභරණය අයිති කර ගන්න, රැකගන්න තිබුණ දාහය නැති වෙනව වගේ, ඒකට දැන් ඉතින් මොනව වුනත් කමක් නෑ කියල හිතෙනව වගේ, මේ ලෝකයේ යථාර්ථය ප්‍රඥාවෙන් දැක්කම, වස්තු රැස් කිරීම, අයිති කර ගැනීම, ආරක්ෂා කිරීම ආදියට තිබුණ දාහය අඩු වෙලා මහා සැනසීමක් දැනෙනවා. අනේ මේ ලෝක සත්වයා මේ තරම් මහා දුක් ගින්දරක් විඳින්නෙ මේ සත්‍යය නොදැක්ක නිසා නේද, ඒ හැම දෙනාමත් මේ දුකෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතල, මම වගේම මේ සියලු ලෝක සියලු සත්වයෝ සංසාර දුකෙන් මිදෙත්වා කියල පතනවා.

දැන් මේ පැතීම කවුරුවත් කියන නිසාවත්, පොත පතේ තියෙන නිසාවත් කරන පැතීමක් නෙවෙයි. අවංකවම ලෝක සත්වයා කෙරෙහි ඇතිවුන මහා අනුකම්පාවකින් කරන පැතීමක්. දයානුකම්පාව ඇතිවෙන්නෙ කරදර විපත්වලින් දුක් විඳින ☞

බව ඇහින් දැකපු පිරිසක් ගැන විතරයි. දයට අනුකම්පා කිරීම තමයි දයානුකම්පාව කියන්නෙ. ඒ කියන්නෙ තමන්ගෙ දූයේ, ජාතියේ අයට. නමුත් අනුකම්පාව කියන්නෙ ඊට එහා ගිය, නොදන්නා, නාඳුනන, දුකට පත්වෙච්ච සත්වයන් කෙරෙහි භේදයක් නැතිව කරන මෙත් වැඩීමක්. මේ පැතීම හේතුවෙන්, ලෝකයාගෙන් මට මෙබඳු දෙයක් ලැබේවා කියල බලාපොරොත්තුවක් නෑ. දෙමව්පියො තමන්ව අනුගමනය කරන දරුවන්ට දායාද දෙනව වගේ, බුදු පියාණන් වහන්සේ දෙසූ දහම වටහාගෙන ඒ මග යන ශ්‍රාවකයින්ට බුදු පියාණන්ගෙන් ලැබුණ දායාදයක් තමයි මේ මහා මෛත්‍රිය, කරුණාව. නමුත් දුටු නිවන පූර්ණ කරගන්න මේ ආර්ය මෛත්‍රිය මහා උපනිශ්‍රයක් වෙනවා.

සංසාර භය, ලෝකයේ අසාරත්වය අවබෝධ කරගත් ආර්ය ශ්‍රාවකයා සතර අපාගතවන මට්ටමේ අකුසල් කරන්නෙ නෑ. ඒ අනුව කය, වචනය සංවර කරගැනීමේ සීල ගුණය වැඩෙනවා. ආර්ය මාර්ගය පූර්ණ කරගන්න කළණ මිතුරන් නිතර ඇසුරු කරනවා. දහම් සාකච්ඡා කරනවා. පෙහෙවස් සමාදන් වෙලා අරිහතුන් වහන්සේගෙ ප්‍රතිපදාව පුහුණු වෙනවා. මේ විදිහට සීල, සමාධි, ප්‍රඥා ගුණ වැඩෙනවා. ආර්ය මෛත්‍රියක් කරන්න පුළුවන් වෙන්නෙ ආර්ය ශ්‍රාවකයෙකුට විතරයි. ලෝක සත්වයා නිච්චයි සුඛයි අත්තයි කියන ලෝකය අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් දකින්නෙ ප්‍රඥා ඇස පහළ වීමෙන්. සංසාරය දුකක්, රෝගයක්, භයක්, ගින්නක්... ආදී වශයෙන් නිතර මෙනෙහි කිරීමෙන් සසරට තියෙන ඇලීම දුරු වෙනවා. නොඇලීමෙන් සසරින් මිදෙනවා. පහළ වුන ප්‍රඥාව තව දුරටත් වැඩෙනවා. ඒ වැඩීම අරිහත්වයෙන් පූර්ණ වෙනවා. සසරින් මිදුනම, මිදුන ප්‍රමාණය තමන්ටම වැටහෙනවා. කාගෙන්වත් අහල දැනගන්න දෙයක් නෑ. ප්‍රත්‍යවේක්ෂා ඥානය තියේ නම් ඒ කාරණය තමන්ටම ප්‍රත්‍යවේක්ෂා කරල දැනගන්න පුළුවන්. භාවනා කරන කොට වචන පද කිව්වට විතරක් මදි. එදිනෙදා කටයුතු කරන කොට මුණ ගැහෙන අරමුණු සිහි ඇතිව විදර්ශනා කරල සුදුසු විදිහට කටයුතු කරන්න ඕන. සීල, සමාධි, ප්‍රඥා වැඩෙන්නෙ, මේ ආර්ය මෛත්‍රී භාවනාවෙන් නිවන් දකින්න පුළුවන් වෙන්නෙ ඒ විදිහට.

මේ කයේ අසාරත්වය, ඒ වගේම රූපාදී අරමුණුවල අසාරත්වය අවබෝධ කරගෙන, ඒ අසාර දෙයට ඇලුම් කිරීම නිසා අපි විඳින අනන්ත සසර දුකින් මිදෙන්න මග කියා දුන් ඒ උතුම් බුද්ධ රත්නයේ, ධර්ම රත්නයේ, ඒ ධර්ම රත්නය ලෝකයට විද්‍යමාන කරන මහා සංඝ රත්නයේ අනන්ත සූවිසි ගුණ සිහි කරල, බුද්ධ පූජා පවත්වල එයින් ලබන අනන්ත පුණ්‍ය සම්භාරයත්, සියලු ලෝක සත්වයින් කෙරෙහි මෙත් සිත පැතිර වීමෙන් ලබන්නා වූ මහා පිනත් සුදුසු විදිහට අනුමෝදන් කරන්න ඕන. **අපි අතින් වරදක්, ප්‍රමාද දෝසයක්, හිංගි හිංසාවක් සිදු වුනා නම් ඒවා සීමා සහිතයි. නමුත් අනන්ත සූවිසි ගුණ සිහි කරල බුද්ධ පූජා පැවැත්වීමෙන් ලබන්නා වූ පින අසීමිතයි. සීමා සහිත වූ වරදට, ප්‍රමාද දෝසයට, හිංගි හිංසාවන්ට අසීමිත වූ මේ පිනෙන් වන්දි ගෙවේවා, වන්දිය ගෙවී අපි නිදහස් වේවා කියල, වරද වරද හැටියට දකල කමා කරගෙන, මතුවට මේ වගේ වැරදි නොකරන්න, සංවරත්වයේ පිහිටන්න අධිෂ්ඨාන කරගන්න ඕන.**

මේ විදිහට අනන්ත සසරෙ අපිට දෙමව්පියන් වෙලා, සහෝදර සහෝදරියන්, ඥාති හිත මිත්‍රාදීන් වෙලා, ශිල්ප දුන් ගුරු දෙගුරුන් වෙලා, ලෙඩට දුකට බේත් හේත් ඇප උපස්ථාන කළ අය වෙලා, වාසස්ථාන සකසා දුන් අය වෙලා, ආරක්ෂාව සලසා දුන් අය වෙලා... මෙකී නොකී විවිධාකාරයෙන් ඒ ඒ අත්බැව්වල අපේ ජීවිත පවත්වාගෙන යන්න උදව් උපකාර කළ හැම දෙනාටත්, අපි නමින් මිය පරලොව ගිය හතර වරිගයක ඥාති හිත මිත්‍රාදීන්ටත් පින් අනුමෝදන් කරන්න ඕන. වරදක් නැති බව, ණය නැති බව කියන කාරණා සම්පූර්ණ කර ගන්න වෙන්නෙ ඒ විදිහට.

නහි වේරේන වේරානී... ආදී වශයෙන් ධම්ම පදයේ සඳහන් වෙන ගාථාවෙන් පෙන්වා දෙන්නෙ, අවෛරයෙන් වෛරය සංසිඳෙනව කියල. ඒක ධර්මතාවයක්. අවංකව මෛත්‍රී කරනව කියන්නෙ අවෛරයට. ඒ වගේ ධර්මතාවයක් නොතිබුණා නම්, වරදට විපාක විඳලම තමයි නිදහස් වෙන්න සිද්ධ වෙන්නෙ. නමුත් මේ මෙත් වැඩීමෙන්, පින් අනුමෝදන් කිරීමෙන්, ණය ගෙවන්න පුළුවන් වැඩ පිළිවෙල නිසා ආර්ය මෛත්‍රී භාවනාව තුළින් නිවන් පූර්ණ කරගන්න අවස්ථාව ලැබෙනවා.

සියලු සත්වයෝ නිදුක් වෙත්වා... ආදී වශයෙන් මෙතෙක් කල් අපි දැනගෙන තිබුණ මෛත්‍රී භාවනාවත්, අර්ථය නිවැරදිව දැනගෙන හිතේ තියාගෙන කළොත් ඒකත් ආර්ය මෛත්‍රී භාවනාවක් වෙනවා. ලෝක සත්වයාට තියෙන භයානකම දුක තමයි සතර අපා දුක. සතර අපායෙන් නිදහස් වෙන්න නම් සෝවාන් වෙන්න ඕන. ඒ නිසා සියලු සත්වයෝ නිදුක් වෙත්වා කියන කොට, සියලු සත්වයෝ සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා කියන අදහස තියා ගන්න ඕන. ලෝක සත්වයාට තියෙන භයානකම රෝගය තමයි මේ කාම දාහයෙන් පෙලෙන ශරීරය. කාම රාග, පටිඝ තුනී වුනොත් කාම දාහය දුරු වෙනවා. කාම තියෙනවා, තුනී වෙන්නෙ කාම රාගය. කාම රාග, පටිඝ කියන සංයෝජන තුනී වෙන්නෙ සකෘදාගාමී ඵලයෙන්. ඒ නිසා සියලු සත්වයෝ නිරෝගී වෙත්වා කියන කොට, සියලු සත්වයෝ සකෘදාගාමී ඵලයෙන් නිරෝගී වෙත්වා කියන අදහස ගන්න ඕන.

කාම දාහය නිවුනට, කය පැවැත්වීමේ දුක තියෙනවා. ඒ නිසා සුවයක් ලබන්න නම් මේ බර කයෙන් නිදහස් වෙලා සැහැල්ලුවෙන් ජීවත් වෙන්න ඕන. ප්‍රීතිය ආහාර කරගත්ත බ්‍රහ්ම කයක් ලැබුනොත් සුවයි. කාම රාග, පටිඝ සම්පූර්ණයෙන් දුරු වුනොත් තමයි ඒක සිද්ධ වෙන්නෙ. ඒ සඳහා අනාගාමී වෙන්න ඕන. ඒ නිසා සියලු සත්වයෝ සුවපත් වෙත්වා කියන කොට, සියලු සත්වයෝ අනාගාමී ඵලයෙන් සුවපත් වෙත්වා කියන අදහස ගන්න ඕන. දුකෙන් සම්පූර්ණයෙන් මිදෙන්න නම් අරිහත්වයට පත්වෙන්න ඕන. බ්‍රහ්ම කයටත් කිසියම් ප්‍රමාණයක පෙළීමක් තියෙනවා. ඒ නිසා ඒ අයත් ඉරියව් මාරු කරනවා. මේ අනුව " සියලු සත්වයෝ දුකෙන් මිදෙත්වා" කියන කොට, "සියලු සත්වයෝ අරිහත් ඵලයෙන් දුකෙන් මිදෙත්වා" කියන අදහස ගන්න ඕන. ඒ විදිහට අරුත් දැනගෙන සිහි කරමින් ඒ භාවනාව වඩන්න පුළුවන්. නමුත් අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ දකින්න නම් මුලින් පැහැදිලි කළ ආර්ය මෛත්‍රී භාවනාව වඩාත් සුදුසුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ඩබ්ලිව්.ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී - කඩවත**

# බුදු සසුන අන්‍යාගමිකයන්ට වැනසිය හැකිද?



අපට හිතා ගන්න බැරි තරම් අසීමිත කාලයක් පෙරුම් පුරල ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමක් පහළ වෙලා ලෝක සත්වයා කෙරෙහි මහා දයානුකම්පාවෙන් දුකෙන් මිදෙන ධර්මය විද්‍යමාන කරල දෙනවා. ලොව්තුරා බුදු වෙන්න පෙරුම් පුරන බෝසතාණන් වහන්සේ නමක් බුදු පියාණන් වහන්සේ නමකගෙන් පළවෙනි නියත විවරණය ලබාගන්න අවස්ථාවෙදි උන්වහන්සේට ධර්මය අහල නිර්වාණාවබෝධය ලබන්න පුළුවන් තත්ත්වයක සිටිය යුතු වෙනවා. එහෙම නැත්නම් බුදු පියාණන් වහන්සේ නමක් නියත විවරණයක් දෙන්නෙ නෑ. ඒක ධර්මතාවයක්. ඒ කියන්නෙ බුදු පියාණන් වහන්සේ නමක් පහළ වෙන්නෙ අපි වෙනුවෙන්මයි, ලෝක සත්ත්වයා වෙනුවෙන්මයි. නැත්නම් උන්වහන්සේට අනන්ත පාරමිතා පුරන්න මහා දුකක් විඳගෙන වෙහෙසෙන්නෙ නැතිව, බොහෝ කාලයකට පෙර තමන්ගෙ නිවන පූර්ණ කරගෙන සියලු දුකෙන් අත් මිදෙන්න තිබුණා.

අනන්ත පාරමිතා පුරල බුදු පියාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා සැඟවිලා තියෙන අකුරු අටක්, පද තුනක් මතු කරල දෙනවා. ඒ තමයි අනිච්ච, දුක්ඛ, අනත්ත කියන පද තුන. මේ පද තුන පාලි භාෂාවෙ එන බැඳි අකුරෙන් ගත්තම අකුරු අටක් වෙනවා. අනිච්ච කියන්නෙ ඥානයක්. මේකට උදයව්‍ය ඥානය, එහෙම නැත්නම් දස බල ඥානය කියලත් කියනවා. බුදු දහම එක වචනයකට කැටි කළොත් ඒ තමයි අනිච්ච. අනිච්ච කියන පදය විස්තර කළොත්, ඒකෙන් පෙන්වන්නෙ හේතු ඵල ධර්මතාවය. ඒ කියන්නෙ පටිච්ච සමුප්පාදය. අනිච්ච කියන පදය පොඩි වුනාට ඒකෙ අර්ථය හරිම ගැඹුරුයි. මහා සාගරය වගේ. ඒක බුදු පියාණන් වහන්සේගෙ නිර්මාණයක් නෙවෙයි. ඒ ධර්මතාවය කවදත් ලෝකයේ පවතිනවා. බුදු පියාණන් වහන්සේ නමක් පහළ වුනත් නැතත් ඒක එහෙමයි. එතකොට උන්වහන්සේ කරන්නෙ, උන්වහන්සේගෙ අනන්ත පාරමිතා ශක්තියෙන් උදාකරගන්න මහා ප්‍රඥාවෙන්, කාගෙවත් උදව්වක් නැතිව ස්වයංභූ ඥානයෙන් මේ ධර්මතාවය අවබෝධ කරගෙන ලෝකයාට මහත් වූ අනුකම්පාවෙන් දේශනා කිරීම.

උන්වහන්සේ මතු කරල දෙන මේ ධර්මයත් හැමදාම, සදාකාලිකව ලෝකයේ විද්‍යමාන වෙලා පවතින්නෙ නෑ. සියල්ලටම පොදු අනිච්චතාවය කියන ධර්මතාවය ඒ ධර්මය විද්‍යමාන වීමටත් බලපානවා. මේ මතු කළ ධර්මය සදාකාලිකව ලෝකයේ විද්‍යමාන වෙනව නම්, ලෝකයට එක බුදු පියාණන් වහන්සේ නමක් පහළ වුනාම හොඳටම ඇති. නමුත් අපි කොච්චර රැකගන්න හැදුවත් මේ ධර්මයත් කවද හරි යටපත් වෙනවා. හැබැයි නිවන් දකින ධර්මය යටපත් වුනාට ඒ වටේ තියෙන වෙහෙර විහාර, පන්සල්, දාගැබ්, පිළිම, ත්‍රිපිටක පොත් පත් ආදිය තවත්

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 12

බොහෝ කාලයක් පවතිනවා. ඒ වුනාට සතර පද ගාථාවක ධර්මය දැනගෙන අරුත් දැනගෙන දේශනා කරන්න පුළුවන් කිසිම කෙනෙක් මනුස්ස ලෝකයේ නැතිව යනවා. ඒ නිසා තමයි බුදු පියාණන් වහන්සේ දේශනා කළේ, කළණ වැටේ අන්තිමය වෙන්න එපා කියල. ඒ කියන්නෙ අවසන් සෝතාපන්න පුද්ගලයා වෙන්න එපා කියල. **අවසන් සෝතාපන්න පුද්ගලයා මනුස්ස ලෝකයෙන් චුත වෙච්ච දාට, නිවන් දකින ධර්මය මනුස්ස ලෝකයේ නැවතත් විද්‍යමාන වෙන්න නම් තවත් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමක්ම පහළ වෙන්න ඕන.**

බුදු පියාණන් වහන්සේ දේශනා කළේ, මේ සාසනය විනාස කරන්නෙ මේ සාසනය ඇතුලෙ ඉන්න පිරිසමයි කියල. ඒ කියන්නෙ බෞද්ධ කියල කියාගන්න පිරිසම තමයි සාසනය අතුරුදන් කරවන්නෙත්. එහෙම නැතිව ආපෝ ධාතුවටවත්, තේජෝ ධාතුවටවත්, වායෝ ධාතුවටවත්, පඨවි ධාතුවටවත් මේ සාසනය විනාස කරන්න බෑ කියල උන්වහන්සේ දේශනා කරනවා. එහෙනම් කොහොමද අබෞද්ධයො / අන්‍යාගමිකයො මේ සාසනය විනාස කරන්නෙ?

**බුදු පියාණන් වහන්සේ ලෝකයේ පහළ වුන අවස්ථාවෙ උන්වහන්සේ කිසියම් සම්මත ජාතියක ඉපදුනා නම්, ඒ ජාතියේ අය විතරද බෞද්ධයො වුනේ? එදා නොයෙක් ජාති, කුල, ආගම්වලින් පැමිණි බොහෝ පිරිස් බෞද්ධයො බවට පත්වුණා.** රජවරු, මැති ඇමතිවරු, සිටුවරු, ක්ෂුද්‍ර යැයි සම්මත පහත් කුලවල අය, අන්‍ය පරිබ්‍රාජකයො එදා ජාති කුල ගොත් ඉක්මවල ධර්මාවබෝධය තුලින් බෞද්ධයො බවට පත් වුනා. බුදු පියාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන කොටත් නොයෙක් සාස්තෘවරු ලෝකයේ පහළ වෙලා හිටියා. හැබැයි බුදු දහම ඒ සියල්ල මැඩගෙන ඉදිරියට ඇවිත් බැබළුණා. බුදු දහම පරාජය කරන්න එදා කාටවත් බැරි වුනා. නමුත් පසු කාලයක විවිධ ප්‍රශ්න ඇවිත් සත්‍ය දහම යටපත් වුනා. සාසනය තුල හිටපු හරි ධර්මාවබෝධයක් නැති පිරිස් නොයෙක් ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තුවෙන්

කටයුතු කිරීම නිසා නිවන් දකින මාර්ගය වඩන්නෙ නැතිව, නොයෙකුත් ලෝකායත සාස්ත්‍රවල යෙදෙන්න පටන් ගත්තා. ඒ හේතුවෙන් සාසනික ප්‍රතිඵල වන මාර්ග ඵල, නිවන සහ ආර්ය ධ්‍යාන ඇති උත්තමයන් බොහෝ හිඟ වුනා.

අද ලංකාවෙ බෞද්ධයො ඉන්නවා. සියම් රටේ, ඒ වගේම බුරුමය ආදී රටවලත් බෞද්ධයො ඉන්නවා. හැබැයි බොහෝ අය නාමික බෞද්ධයන් මිසක් ධර්මාවබෝධය තුලින් බෞද්ධ වෙච්ච අය නෙවෙයි. ඒ කියන්නෙ සම්මත බෞද්ධයො මිසක් පරමාර්ථ බෞද්ධයො නෙවෙයි. පරමාර්ථ බෞද්ධයො ඉතා හිඟ කාලයක් තමයි මේ. **නියම බෞද්ධයෙක් නම් නැවතත් අන්‍ය ආගමකට හරවන්න බෑ. ඒක හරියට, එකයි එකයි එකතු කළාම දෙකයි කියල අවබෝධ වුනාට පස්සෙ, කවුරුහරි ඇවිත් කිව්වොත් එකයි එකයි එකතු කළාම තුනයි කියල ඒ පුද්ගලය ඒක පිළිගන්නෙ නෑ වගේ දෙයක්.** ඒ වගේ දේකට හේතු නෑ.

ඒ වගේ යම් දහමක ප්‍රතිඵල විද්‍යමාන වෙනව නම් ඒ දහම ලේසියෙන් වහන්න බෑ. වෙහෙර විහාර, පන්සල්, දාගැබ් ආදිය බෞද්ධයන්ගෙ පසුතලය විතරයි. යම් කිසි දහමකින් විශේෂ ප්‍රතිඵලයක් පේන්න තියෙනව නම්, ආගම් භේදයකින් තොරව නැණවතුන් ඒ දහම හොයන්න පටන් ගන්නවා. ඒකට වටිනාකමක් ලැබෙනවා. අද ලෝකයේ බොහෝ නැණවත් මනුස්සයින් කායික නිදහසට වඩා හොයන්නෙ මානසික නිදහස. කායික දුක් කරදර මැද්දෙ යම් මානසික සුවයකට පත් වෙන්න ක්‍රමවේදයක් එහෙම තියෙනව නම්, කවුරු මොන විදිහකින් පහර ගහන්න හැදුවත් ඒ ක්‍රමය යටපත් කරන්න බැරුව යනවා.

මේ කාලයේ කොච්චර තද නීති දැම්මත්, ලෝකයේ කිසිම රජයකට අයින් කරගන්න බැරි දෙයක් තමයි මත් ද්‍රව්‍ය පරිහරණය හා වෙළඳාම. බොහෝ රටවල නීති විරෝධී මත් ද්‍රව්‍ය පරිහරණයට හා බෙදා හැරීමට මරණ දඬුවම පවා පනවල තියෙනවා. හැබැයි ඒ මොන නීති දැම්මත්, අද වෙනතුරු ඒක නවත්වන්න බැරි වෙලා තියෙනවා. අන්තිමට මානසික සුවයක් ලබාගන්න ක්‍රමයක් නැතිව ඉන්න මනුස්සයට මත් ද්‍රව්‍ය තුලින් ක්‍රමයක් සකස් වෙනවා. අපි අපහාසයට ඔවුන්ට කුඩුකාරයො කියල කියනවා. සමහරු මත් පැන් තුලින් ඒක කරගන්නවා. ඔවුන්ට බේබද්දො කියල කියනවා. මත් ද්‍රව්‍ය ගත්තට පස්සෙ මුළු ලෝකයෙන්ම නිදහස් වුනා වගේ අමුතු මුලා සුවයක් ලබනවා. හරියට අමුතු ලෝකයකට ගියා වගේ. තිබ්බ ප්‍රශ්න සියල්ල ඒ වෙලාවට යටපත් වෙලා යනවා. එහෙම නැතිව මේ සියල්ලම හරි ගිහින් දුකෙන් මිදිල එහෙම නෙවෙයි. මිනිස් තිරිසනෙක් බවට පත් වෙලා සිහි මුලා වෙලා. හැබැයි තිබ්බ කායික මානසික වෙහෙස නැතිවෙලා පාවෙලා යනව වගේ සුන්දර ලෝකයකට යනවා.

මත් පැන් බොන කෙනෙක්ගෙන් ඇහුවොත් ඇයි බොන්නෙ කියල, බොහොමයක් අය හිතේ වේදනාව අඩු කරගන්න බොනව කියනවා. මට බිරිඳ බැන්නා, ළමයි මාව ගණන් ගන්නෙ නෑ, රැකියාවෙ ප්‍රශ්න, වැඩ කරල ඇඟට හරි අමාරුයි... ඔය වගේ මොනව හරි හේතුවක් නිසා ඇති වෙච්ච හිතේ වේදනාව, ගතේ වේදනාව නැති කරගන්න ක්‍රමයක් හොයනවා. මත් ද්‍රව්‍ය භාවිතය තුලින් ඒ මොහොතට කායික වේදනාව නොදැනී ගිහින් මුලා සහගත මානසික සුවයක් ලැබෙන නිසාම තමයි මිනිස්සු ඒවා පරිහරණය කරන්නෙ. ඒ නිසා කොච්චර දැඩි නීති පැනෙව්වත් ඒවා අද වෙනතුරුත් නවත්වන්න බැරි වෙලා තියෙනවා.

එහෙනම් කොයි මොහොතක හරි බුදු දහම ඇසුරු කරල ඒ තුලින් මග වඩාගෙන යන කොට ධ්‍යානයකට පත් වෙන්න අවස්ථාව ලැබුන නම්, කුඩු උරල තිරිසන් මානසිකත්වයකට පත් වුනා වගේ නෙවෙයි, බ්‍රහ්ම මානසිකත්වයට පත් වෙලා ලෝකයේ තියෙන උපරිම සුවයකට පත් වෙන්න අවස්ථාව ලැබෙනවා. සතයක්වත් වියදම් කරන්නෙ නැතිව අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ලබන්න පුළුවන්, පංච කාම සුවය ඉක්මවා ගිය ශාන්ත නිදහස් සුවයක් තමයි ධ්‍යාන සුවය කියන්නෙ. ඒ වගේ ප්‍රතිඵලයක් කාට හරි අත් විඳින්න ලැබුණ නම් එක දෙයක් සිද්ධ වෙනවා. මෙච්චර ශාන්තියක් ලබාගන්න පුළුවන් ක්‍රම මේ බුදු දහම තුල තියෙනවා කියන පණිවිඩය ලෝකයාට ලැබෙනවා. මේ ඇලෙන ගැටෙන සමාජය තුලම ඉඳගෙන, ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව නිදහසේ ඉන්න ක්‍රමයක් තියෙන බව අත් විඳින්න ලැබෙනවා. ඕනනම් තමන්ට ඒ සුවයෙන් පැයක් ඉන්න පුළුවන්, නැත්නම් පැය දෙකක් ඉන්න පුළුවන්. ඕන තරම් කාලයක් කිසි වියදමකින් තොරව ඉන්න පුළුවන් බව වැටහෙනවා. ඒක හරි ශාන්තයි, ප්‍රණීතයි. ලෝකයේ තියෙන ගිනි එතන නෑ. කුඩු ටිකක් උරල, කසිප්පු ටිකක් බීල කානුවෙ වැටිල ඉන්නව වගේ දුකක් එතන නැනෙ කියල දකිනවා. බල්ලො කට ලෙව කෑවත් ඒ තිරිසන් සුවයට පුරුදු වෙච්ච කෙනා ඒක නවත්වන්නෙ නෑ. මොකද ඉතා අල්ප වශයෙන් හෝ මානසික සුවයක් එතන තියෙන නිසා. හැබැයි ආර්ය සමාධියක් තුලින් ලබන සැනසීම ඒ වගේ කෝටි ගුණයකටත් වඩා වැඩියි.

අද වෙනකොට බුදු දහමෙ ප්‍රතිඵල ලබන්න තියෙන ක්‍රමවේදය වැහිල ගිහින් තියෙන නිසා, අද බුදු දහම කියල හිතාගෙන ඉන්නෙ භෞතිකව පේන්න තියෙන වෙහෙර විහාර, දාගැබ්, පිළිම ආදිය විතරයි. ඒවත් තියෙන්න ඕන. හැබැයි බුදු දහමෙ හරය වැහිල ගිහින් ඒව විතරක් තිබුණ කියල ඒව රකින්න බෑ. බුදු දහමෙ ඇසුර හොයන අයට කවද හරි නියම හරය ලැබුනොත් එතැනදි වැදගත් දෙයක් සිද්ධ වෙනවා. තම තමන්ගෙ ප්‍රඥා මට්ටමට නැණවතුන් ධර්මාවබෝධය ලබල, අනේ මේ බුදු දහම තරම් වටිනා දෙයක් ලෝකෙ නැනෙ කියල දකිනවා. සැනසීම තියෙන්නෙ මෙතැනනේ කියල වටහගන්නවා. මේ තරම් ශාන්තියක් වෙන කොහෙන් ලබන්නද? එදාට මත් ද්‍රව්‍යවලින් ගන්න බැරි, මේ ලෝකෙ සටන් කරල දිනාගන්න බැරි මහා ශාන්තියක් බුද්ධ සාසනය තුලින් ලබනවා.

බුදු දහම අකාලිකයි. එහෙනම් එදා ලබපු ප්‍රතිඵල අදත් ලබන්න පුළුවන් වෙන්න ඕන. ඒකට හේතු තියෙනවා. හැබැයි සත්‍ය ධර්මය වැහිල මූල ධර්මය යටපත් වුනාට පස්සෙ, නමට විතරක් බුදු දහම රකින්න හදනවා. හරය වැහිල ගිය දවසට, මේ මෝඩ මිනිස්සු එක එක විකාර වැඩ කර කර ඉන්නව කියල, සමහරු බුදු දහම කියල ආරක්ෂා කරගෙන එන බාහිර ලාංඡන ටිකත් කඩල බිඳල දාන්න හදනවා. ඉතින් අපිත් ගහ මරාගෙන බුදු දහම කියල ඒ ටික විතරක් රකින්න හදනවා. නමුත් හරියට දහම මතුවෙලා ඔප් නැංවිලා තිබුණ නම්, අධ්‍යාත්මික ශාන්තිය පළවෙනි තැනට එනවා. බුදු දහමෙ වටිනාකම ලෝකයා දකින්න පටන් ගන්නවා.

අද ලෝක සත්ත්වයාගෙ ශ්‍රද්ධා ඉන්ද්‍රිය, වීර්ය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය, ප්‍රඥා

ඉන්ද්‍රිය වැඩිල තියෙන්නෙ. ප්‍රඥා ඉන්ද්‍රිය මේ අතරින් අග්‍රයි. ප්‍රඥා ඉන්ද්‍රිය මතු වුනාට පස්සෙ අනෙක් සියල්ල අභිබවා යනවා. හැබැයි අදත් ප්‍රඥා ඉන්ද්‍රිය මතු කර ගන්න හේතු වාසනා තියෙන අය ගොඩක් ඉන්නවා. අවශ්‍ය කරන හරය, එහෙම නැත්නම් සත් ධර්මය නැති එකයි ගැටළුව වෙලා තියෙන්නෙ. අද බැලුවොත් ගුවන් විදුලියෙයි, රූපවාහිනියෙයි පැය 24 පුරාම ධර්මය අහන්න ලැබෙනවා. හැබැයි බුදු හාමුදුරුවො නම් දේශනා කළේ සත් ධර්මය පරම දුර්ලභයි කියල. උන්වහන්සේ යමක් කියන්නෙ අනුමානයෙන් නෙවෙයි. උන්වහන්සේ සර්වඥයි. **මෙච්චර බණ දේශනා කරන, බණ අහන රටක වැසියො ගිනි නිවාගෙනද ඉන්නෙ, ගිනි පත්තු කරගෙනද ඉන්නෙ කියල හිතල බලන්න.**

බුදු පියාණන් වහන්සේ නම් දේශනා කළේ, යම් ධර්මයක් නිසා රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි අඩු වෙනව නම් ඒක බුදු බණක් හැටියට ගන්න කියල. එහෙනම් හිතල බලන්න, ඔබට හැම තැනින්ම අහන්න ලැබෙන්නෙ සත් ධර්මයද කියල. ඒ සමහර දේශකයො යමක් කිව්වට පස්සෙ, ඒක වෙන්නෙ කොහොමද කියල ඇහුවොත් මොකක්ද දෙන උත්තරය?

"ඔන්න වැඩිපුර ප්‍රශ්න අහන්න එනවා. ඒකෙ අග මුල හොයන්න එනවා. කිව්ව විදිහට කරනවා, නැත්නම් යනව යන්න" ඔහොම උත්තරයක් තමයි බොහෝ අයගෙන් ලැබෙන්නෙ. හැබැයි ප්‍රඥාවන්තයින්ට ඒ වගේ උත්තර හරි වදයක්. තේරුම් ගන්න බැරි ඒවා මොනව කරන්නද? ඇත්තක් නම් නුවණට ගෝචර වෙන්න එපැයි. ඉතිං මොකද කරන්නෙ, මට ඕවා පස්සෙ ගිහින් වැඩක් නෑ කියල අතහැරල දානවා. හැබැයි කල්‍යාණ මිත්‍රයෙක් මුණ ගැහිල සත් ධර්මය අහල දැනගත්ත දාට, ප්‍රඥාවට ගෝචර වෙලා සත්‍යය වැටහුන දාට, ශ්‍රද්ධා ඉන්ද්‍රිය ආදී අනෙක් ඉන්ද්‍රියනුත් වැඩිල එනවා. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා, මා කෙරෙහි ශ්‍රද්ධා මාත්‍රයක් ප්‍රේම මාත්‍රයක් තියෙන කෙනෙක් අපා ගත වෙන්නෙ නෑ කියල. ඒ කියන්නෙ අඩුම ගානෙ ඒ පුද්ගලයා සෝවාන් මාර්ගයටවත් ඇවිත් තියෙන්න ඕන. එහෙම නැත්නම් සතර අපායෙන් මිදෙන්න වෙන ක්‍රමයක් නෑ. එහෙනම් දැන් වැටහෙන්න ඕන, අද ඉන්න නාමික බෞද්ධයන්ට බුදු පියාණන් වහන්සේ ගැන ඉතා අධික භක්තියක් තියෙනව මිසක් ශ්‍රද්ධා මාත්‍රයක් නෑ කියල.

ස්ව+අද්දා තමයි සද්ධා කියන්නෙ. ඒ කියන්නෙ මමත්වය පහතට ඇදල දානවා. අංශු මාත්‍රයක හරි මමත්වය අඩු වෙන්න නම් ධර්මය දැකලම තියෙන්න ඕන. ධර්මය දැක්කයි කියන්නෙ බුදුන් දැක්කයි කියන එක. එතකොට තමයි සද්ධා මාත්‍රයක් හරි එන්නෙ. අනෙක ප්‍රේම මාත්‍රය. පේ කියන්නෙ පානය කරනවා. අම කියන්නෙ නිවන. නිවන් මාත්‍රයක් හරි පානය කළා කියන එක තමයි ප්‍රේම මාත්‍රයක් කියන්නෙ. ඉතින්



ඒකටත් දහම් අවබෝධ කරගෙන තියෙන්න ඕන. බුදුන් **කෙරෙහි ඇත්තටම ගෞරවයක් ඇතිවෙන්නෙ ධර්මය දැක්කට පස්සෙ.** නමුත් භක්තිය කියන්නෙ ඒක නෙවෙයි, තමන් විසින් හදාගන්න දෘෂ්ටියට අනුව එහි ඇලී ගැලී ඉඳීම. භ+අක්ති - භක්ති - තමන් ඇති කරගත් දේ, අත්දැකපු දේ බිහි කරගන්නවා. තමන්ගෙ මතය එළි දක්වනවා. ඒකට හරි කැමතියි. ඒ භක්තිය හොඳ එකක් වෙන්නත් පුළුවන්, නරක එකක් වෙන්නත් පුළුවන්. ඉතිං බුදුන් කෙරෙහි ඇතිවන භක්තිය හොඳ එකක්. නමුත් මේ කියන විදිහට ඒකෙන් සතර අපායෙන් නිදහස් වෙන්න බෑ, නිවන් දකින්න බෑ.

**බුදුන්ට පිටුපාන්න එපා කිව්වම, සමහරු ඒක තේරුම් ගන්න බැරුව බුදු පිළිමය වන්දනා කරල ආපසු හැරෙන්නෙ නැතිව පස්සෙන් පස්සට ඇවිත් සමහර වෙලාවට පඩි පෙළෙනුත් බිමට වැටෙනවා. මොකක්ද මේ කිව්වෙ ? බුදු හාමුදුරුවො දේශනා කරපු ධර්මය පිළිපදින්න කියල, ඒ දහමට පිටුපාන්න එපා කියල. හැබැයි ගත්තෙ වෙන අදහසක්.** බුදුන් දැක නිවන් දකින්න කිව්වමත්, මෛත්‍රී බුදු පියාණන් වහන්සේ දකින්න හිතාගෙන භවයේ සැරිසරන්න බලාපොරොත්තු වෙනවා. හැබැයි අපායකට නොවැටී ඉඳල කොහොමහරි ජීවමාන මෛත්‍රී බුදු පියාණන් වහන්සේගෙ රූපය දැක්කත් නිවන් නම් දකින්න ලැබෙන්නෙ නෑ. උදේ භවස ජීවමාන ගෞතම බුදු පියාණන් වහන්සේ දැක ගනිමින් වන්දනාමාන පුද පූජා පවත්වපු කොසොල් රජතුමයි, කෝසල මල්ලිකා දේවියයි නිවන් දැක්කද? බුදුන් දකින්න කිව්වෙ ධර්මය තුලින්. ධර්මය කිව්වෙ හේතු ඵල දහම, පටිච්ච සමුප්පාදය. පටිච්ච සමුප්පාදය දැක්කොත් භවය උදුරා දමන මාර්ගය දකිනවා. ඒ කියන්නෙ බව+උද්ධ-බුද්ධ දකිනවා, නිවන් දකිනවා. එහෙම නැතුව ජීවමාන බුද්ධ ශරීරය දැක්කත් නිවන් දකින්න බෑ.

නිවැරදි දහම මතු වෙනකොට ප්‍රඥාවන්තයො සම්මා දිට්ඨියට පත් වෙලා ආර්ය අෂ්ටාංගික මාර්ගය වැඩීම තුලින් සම්මා සමාධිය ලබනවා. සම්මා සමාධියට ප්‍රථම ධ්‍යානය........ චතුර්ථ ධ්‍යානය අයිතියි. එදාට හරියටම දැනගන්නවා, අධ්‍යාත්මික සුවය ලබන්න බුදු මග හැර වෙන මගක් ලෝකයේ නෑ කියල. ඒ මාර්ගය ඥාන ගෝචරයි, අති ශ්‍රේෂ්ඨයි. ලෝකයෙන් මිදීමේ ශාන්ත ප්‍රණීත සුවය අත් විඳින්න පුළුවන්. මේ ක්‍රමය දැනගත්ත දාට බුදු දහම ලෝකයෙන් කොහොම අයින් කරන්නද? නිවැරදි මාර්ගය වැහිච්ච එකයි විනාසයට හේතුව. අධ්‍යාත්මික ප්‍රතිඵල ගිලිහිලා සාසනික නිවන් මග කියල වැරදි ක්‍රමයක් ගත්ත දවසට සාසනය අතුරුදන් වෙන්න පටන් ගන්නවා. එදාට බුදු දහම කියන මහා විද්‍යාව එක්තරා ආගමක් බවට පත් වෙනවා, සාමාන්‍ය දෙයක් බවට පත් වෙනවා. බාහිර ආටෝප විතරක් ඉතිරි වෙනවා. අවබෝධයකින් තොරව, පුද පූජා පමණක් පවත්වාගෙන යන වැඩ පිළිවෙලක් විදිහට බුදු දහම සමාජයට කාවදිනවා.

යථාර්ථයේ ඉන්න තාක් කල්, ආර්ය මහා සංඝ රත්නය ඉන්න තාක් කල්, මේ තුන් ලෝකෙ කාටවත් බුදු දහම විනාස කරන්න පුළුවන්කමක් ලැබෙන්නෙ නෑ. මෙලොව විතරක් නෙවෙයි, නොපෙනෙන ලෝකවල ඉන්න මාර පාක්ෂික බලවේගවලටවත් ඒක කරන්න බෑ. මාර්ගය ඇද නැතිව තියෙන තාක් කල් ඥානවන්තයො ප්‍රතිඵල ලබනවා. ලෝකයටම දහම ව්‍යාප්ත වෙනවා. ධර්මයේ වටිනාකම දකිනවා.

බුදු දහම ලෝකයේ බබලන්න ☞

පටන් ගන්නවා, අනෙක් මිත්‍යා දෘෂ්ටීන් යටපත් වෙනවා. මෑත කාලයේ පහළ වූ යම්කිසි දාර්ශනික දැනුමක් තිබිච්ච ආතර් සී ක්ලාක් මහත්තය පවා, 2050 වෙන කොට බුදු දහම ලෝකයේ මුල් තැනට එන බවට අනාවැකියක් පළ කරල තියෙනවා. තවමත් සත් ධර්මය සම්පූර්ණයෙන්ම අතුරුදන් වෙලා නෑ. අවාරෙට කොහේ හරි ගහක අඹ තියෙනව වගේ, සත්‍ය දහම දේශනා කරන උත්තමයන් අද ලෝකයට බිහි වෙලා තියෙනවා. හැබැයි මේ පිබිදීම වුනත් සදාකාලිකව පවත්වන්න පුළුවන් දෙයක් නෙවෙයි. අනිච්චතාවය සියල්ලටම පොදු ලෝක ධර්මතාවයක්. ඒ නිසා ඒ කාරණය නිකං උද්දාම වෙලා ආස්වාදයක් ගන්න හේතුවක් නෙවෙයි. බුදු දහම ඉස්මතු වෙන්න හේතු සකස් වෙනකොට ඉස්මතු වෙනවා. හේතු නැති වෙනකොට යටපත් වෙනවා.

**අනාගත භය සූත්‍රවල බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, සාසනය අතුරුදන් වෙන්න පෙර ඉක්මනට තමන්ගෙ වැඩේ කරගන්න කියල.** පහ+අමා කරගෙන පමා වෙන්නෙ නැතුව, ඒ කියන්නෙ පංච කාමය නිවන කරගන්නෙ නැතුව, හැකි ඉක්මනින් ධර්මය විද්‍යාමාන වෙන වෙලාවෙ ධර්මාවබෝධය ලබන්න උත්සාහ කරන්න කියන එකයි මේ කියන්නෙ. එහෙම නැතුව කිසිම සූත්‍රයක බුදු පියාණන් වහන්සේ දේශනා කරල නෑ, අනාගතයෙදි මේ වෙහෙර විහාර කඩල දානවා, ඒ නිසා බට හමුදාවක් හදාගෙන මේක රැකගනිල්ල කියල.

ලෝකයේ කවදත් පැවතුන ක්‍රමයක් තියෙනවා. ඒ තමයි පංච කාම සුවය අග්‍ර කරගෙන ලෝකයේ ඇලිල ගැලිල ඉන්න එක. ඔය ක්‍රමය මතු වුන දාට, බුදු දහම කියල හදාගෙන ඉන්න බාහිර ලාංඡනවලට පහර වදිනවා. බුදු දහමත් තවත් එක්තරා ආගමක් බවට පත් වෙලා, ආගම් අතර යුද්ධ කරන්න පටන් ගන්නවා, ගහ මරා ගන්නවා, දැවෙනවා, තැවෙනවා. ඊට පස්සෙ නාමික බෞද්ධයො ටික ලෝක සම්මත ආගමක් රකින මුර භටයො බවට පත් වෙනවා. අධ්‍යාත්මික දියුණුව ළඟා කරගන්න කටයුතු පැත්තකට දාල භෞතික වස්තු ටික ආරක්ෂා කර ගන්න ක්‍රමයක් හදා ගන්නවා. අද වෙලා තියෙන්නෙත් ඒක තමයි. මේ විදිහට බුදු දහමෙ හරය වහගෙන බාහිර ආටෝප ටික රකින්න අමාරුයි. ඒකට හැම අතින්ම පහර වදිනවා. ලෝකයත් එක්ක ගැටෙන්නෙ නැතිව සාම්ප්‍රදායික බුදු දහම රකින එක ලේසි වැඩක් නෙවෙයි. සාම හමුදාවක් වෙනුවට අන්තිමට බට හමුදාවක් හදන්න තමයි වෙන්නෙ.

බුදු පියාණන් වහන්සේ පිරිනිවන් පාන වෙලාවෙ දේශනා කළේ, දුක් වෙවී ඉන්න එපා ධර්මාරාම භික්ෂුව ආදර්ශයට අරගෙන ඉක්මනට තමන්ගෙ වැඩේ කරගන්න කියල. එහෙම නැතුව ජේතවනාරාමය හෝ අනෙක් වෙහෙර විහාර හෝ ආරක්ෂා කරගන්න කිව්වෙ නෑ. සර්වඥ ධාතුවලට මොකද කරන්නෙ කියල ආනන්ද හාමුදුරුවො ඇහුවම කිව්වෙ, ඒවා රජවරු සිටුවරු බලා ගනීවි ඔබල ඔබලගෙ වැඩේ කරගන්න කියල. ඒ නිසා බල්ලගෙ වැඩේ බූරුවා කරන්න යන්න ඕන නෑ. ඒ ඒ දේවල්වලට අදාළ පිරිස් ඒවා කරගෙන යාවි. ඒ අයට මුකුත් දොස් කියන්න යන්නත් හොඳ නෑ. තමන්ට ධර්මය වැටහෙනව නම් සසර කෙළවර කරගන්න ඉදිරි වැඩපිළිවෙල කරගෙන යන්නයි තියෙන්නෙ.

කටුවටවත් වහල්ලටවත් නැත්නම් වැඩක් නෑ, අඩු ගානෙ කටුවට හෝ වහල්ලට වෙන්න කියල මේ සම්බන්ධයෙන් කොස් ගෙඩියෙ උපමාවක් තියෙනවා. කොස් ගෙඩියක් ගත්තම කොස් කටුවෙන් තමයි මදුලුවලට ආරක්ෂාව සැලසෙන්නෙ. ඊළඟට කොස් මදුලු වටා සුදු පාට ඉරි තියෙනවා. අන්තිමට කොස් වහල්ලෙන් තමයි පෝෂණය සපයන්නෙ. දැන් මේ කොස් ගෙඩිය සාසනයට උපමා කරල බැලුවොත්, භික්ෂු භික්ෂුණී කියන කොටස හරියට කොස් මදුලු වගේ. ඒ වටා තියෙන සුදු පාට ඉරි උපාසක උපාසිකාවන් වගේ. ඒ දෙකොට්ඨාසය තමයි සාසනය විදිහට වැඩෙන්නෙ. ඒ අය තමයි දහම් දෙසන්නෙ, දහම් අහන්නෙ, බණ භාවනා කරල දැහැන්, මග ඵල ආදී ප්‍රතිඵල ලබා ගන්නෙ. එතකොට කොස් මදුළු සහ ඉරි රැකිල පෝෂණය වෙන්නෙ කොස් වහල්ලෙන්. පිට තියෙන කටුවෙන් තමයි මේ සියල්ලටම ආරක්ෂාව සැපයෙන්නෙ. වහල්ල කියන්නෙ සාසනයේ දියුණුවට දන් දෙන, වෙහෙර විහාර ආවාස... ආදිය හදල සිවුපසයෙන් ඇප උපස්ථාන කරන දානපතියො. ඒ වගේම දහම් ප්‍රචාරණයට උදව් උපකාර කරන අය. කටුව කියන්නෙ අඩු තරමින් සාසනික දේවල් රකින්නවත් උදව් උපකාර කරන අය. හැබැයි මේ කියන්නෙ දැහැමි රක්ෂණයක් ගැන. ඉතිං ඒ ආකාරයෙන් ගත්තු උපමාවක් තමයි කටුවට වහල්ලට නැත්නම් වැඩක් නෑ කියන්නෙ. ඒ කියන්නෙ ඒ දෙකෙන් මොකකට හරි අයිති වෙන්න ඕන. එක්කො සාසනය පෝෂණය කරන තැනට එන්න ඕන. එහෙම නැත්නම් සාසනය ආරක්ෂා කරන තැනට ඇතුළු වෙන්න ඕන.

එතකොට දැන් තියෙන පන්සල්, වෙහෙර විහාර... ආදී සාසනයට අයිති භෞතික වස්තු සම්මතයේ ආරක්ෂා කිරීම හරියට කටුව වගේ. ධර්මාවබෝධයක් ලබා ගත් මග ඵලලාභීන්ට, ඒ ධර්ම මාර්ගයේ යන අයට ඇප උපස්ථාන කිරීම වහල්ලෙන් පෝෂණය සපයනව වගේ. ඉතිං මේ දෙකෙන් මොකකට හරි ඇතුළු වෙන්න කියන එක තමයි මේකෙන් කියන්නෙ. එතකොට වහල්ලට ඒ අවස්ථාවෙදි කටුව වෙන්නත් බෑ, කටුවට ඒ අවස්ථාවෙදි වහල්ල වෙන්නත් බෑ. ඒ කොටසට හිමි වෙනම කාර්යක් ඒ අවස්ථාවෙදි තියෙනවා. තමන්ට හිමි කොටස තමන් කරන්න ඕන. සාසනය දියුණු කරන අය, මිල මුදල් වැය කරන අය වහල්ල වගේ වෙනම ඉන්නවා. කරදරයක් විනාසයක් වෙන්න නොදී රැකගන්න පිරිස් වෙනම ඉන්නවා. හරියට කටුව වගේ.

ඊළඟට අද බොහෝ දෙනෙක් අහනවා, මොනවද ඔය බෞද්ධයන්ට අධ්‍යාත්මික දියුණුවක් තුලින් කරන්න පුළුවන් කියල. ඒ අහන අයට නිවන මොකක්ද කියල වැටහෙන්නෙ නෑ. ඇහැට කනට පේන්න ඇහෙන්න මොනවද කරන්න පුළුවන් කියල තමයි අහන්නෙ. "ඔය අහසින් යන ඒවා, පොළොව කිමිදගෙන යන ඒවා, දිය මතු පිට යන ඒවා, එකෙන් දාහක් මවන ඒවා ඔයගොල්ලන්ගෙ පොත්වල විතරයිනෙ තියෙන්නෙ." ඉතින් ඔහොම කතා කියනකොට, එදා කරපුව එකක් දෙකක් කරන්න පුළුවන් අය අද හිටියොත් ඒකෙන් මුළු ලෝකයේම ඇස් ඇරෙනවා. බුදු දහම කියන්නෙ මොකක්ද කියල හොයන්න පටන් ගන්නවා. එතකොට තමයි සිවු අරිසස් දේශනයක් අහන්න ලෝකයා පෙළඹෙන්නෙ. නැත්නම් සත් ධර්මය අහන්නවත් ඔවුන් එන්නෙ නෑ. හැබැයි ධර්මාවබෝධය ලැබුවම ඔය සෘද්ධි ප්‍රාතිහාර්යවලින් ඇති වැඩක් නෑ කියල පසුව වටහා ගන්නවා. නමුත් මුල් කාලයේ කෙනෙක් ධර්මයට නැඹුරු කරගන්න ඒක ලොකු උදව්වක් වෙනවා.

**අභයරතනාලංකාරය - 62**

# ගිහි ගෙදරදී විඳි දුක් ගිනි... (VII)



**- වහරක අභයරතනාලංකාර හිමි**

මත්පැන් කියන්නෙ මුළු සමාජයක්, රටක් වුනත් වනසන්න පුළුවන් පිළිලයක්. දිනපතා අහන්න, දකින්න ලැබෙන ප්‍රවෘත්තිවලින් ඒ කාරණය සනාථ වෙනවා. සමහරු මත්පැන් පානය කළාම අමු තිරිසන්නු වගෙයි හැසිරෙන්නෙ. කිසිම ලැජ්ජාවක් බයක් නෑ. අම්ම, අප්ප, භාර්යාව, දූ දරුවො මේ කවුරුවත් අඳුනන්නෙ නෑ. එක පැත්තකින් ශරීර සෞඛ්‍යයෙන් පිරිහිලා මරු වැළඳ ගන්නව වගේම, අනෙක් පැත්තෙන් සාරධර්ම ගුණාංග පිරිහිලා ගහ මරාගෙන දේපළත් විනාස කරගෙන මිනීමැරුම්වලින් තමයි කෙළවර වෙන්නෙ. කර්ම විපාක මූලික වුනත් ඒ වගේ අවස්ථාවලදී ප්‍රයෝග විපත්තියක් විදිහට එන්නෙ මත්පැන්. එහෙම නැත්නම් බේබදුකම. මත්පැන් පානය කරන හැමෝම ඒ තත්ත්වයට පත් නොවුනත්, ඒ වගේ කිහිප දෙනෙක් හිටියත් මුළු මහත් සමාජයක් රටක් වනසන්න, දූෂ්‍ය කරන්න පුළුවන්. අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දී මේ වගේ බේබද්දන්ගෙන් අනූනවයෙන් බේරිච්ච අවස්ථා ගැන ලබපු අත්දැකීම් කිහිපයක් උන්වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

අපි විවාහ වෙලා මුල් කාලෙ ඔක්කොම එක ගෙදර හිටියෙ. ඒත් කාලයක් යනකොට එකට ඉන්න බැරි තත්ත්වයක් ආවා. භාර්යාව, අම්ම, සහෝදර සහෝදරියො එකම ගිනි ජාලාවක් වගේ. එකට ඉන්න බැරිම තැන මම ඒ ඉඩමෙම කොනකින් ගෙපලක් කපල කටු මැටි ගහල පුංචි පැලක් හැදුවා. වෙනම ඉන්න කියල තමයි ඒක හැදුවෙ. ඒ වෙලාවෙදි ඒකට දිග පළල ☞

බුද්ධ කාලයෙත් මුගලන් හාමුදුරුවන්ගෙ ඍද්ධි ප්‍රාතිහාර්ය දැකල බොහෝ දෙනෙක් සාසනය කෙරෙහි පැහැදිලා පසුව ධර්මාවබෝධය ලබාගත්තා. මොකද කොහොම හරි කමක් නෑ, කෙනෙක් ධර්ම ශ්‍රවණයට යොමු කරගන්න එක තමයි ඉස්සෙල්ලම කරන්න ඕන. ඊට පස්සෙ ධර්මය වැටහුණු කෙනා ගැන නැවත බලන්න දෙයක් නෑ. ඔහු පර ප්‍රත්‍ය රහිතයි. සක්විති රජකම ඔහුට දෙනව කිව්වත් ලැබුණු අවබෝධය වෙනස් වෙන්නෙ නෑ. එහෙනම් ටකරම් කෑල්ලකට, වැසිකිළි පෝච්චියකට හෝ රුපියල් කාසිවලට නියම බෞද්ධයෙක් අබෞද්ධ කරන්න පුළුවන්ද ?

එතකොට අද බෞද්ධයො මොකක්ද කරන්න ඕන? ඉස්සෙල්ලම මේ අවබෝධයට තියෙන බාධකය හොයාගන්න ඕන. නිවන කියන්නෙ මොකක්ද, අද ඒ තත්ත්වයට පත් වෙන්න බැරි ඇයි කියල හොයාගන්න ඕන. අද ඉන්න භික්ෂූන් වහන්සේලා එකතු වෙලා, මානය පැත්තකට දාල සාම්ප්‍රදායිකව ගෙනාපු මතවල එල්ලිලා ඉන්නෙ නැතුව, ධර්මාවබෝධය තියෙන භික්ෂූන් වහන්සේලාගෙන් ධර්මයේ වැහිල තියෙන තැන් ටික විවර කරගන්න ඕන. අද මේකට ලොකුම බාධකය වෙලා තියෙන්නෙ පුහු මානය. මාර්ගය සුද්ධ කර ගත්තට පස්සෙ, උන්වහන්සේලා දේශනා කරන සත් ධර්මය තුලින් බොහෝ පිරිසක් ආගම් භේදයකින් තොරව ධර්මාවබෝධය ලබා ගනීවි.

අදත් විදේශවල ඉඳල බොහෝ පිරිස් ධර්මය හොයාගෙන ලංකාවට එනවා. බොහෝ අය භාවනා මධ්‍යස්ථානවලට ගිහින් ඒ දෙන උපදෙස් අකුරටම පිළිපැදල බලනවා. ඒ වගේ බොහෝ අය භෞතික සැප සම්පත් විඳල ඒවායේ හරයක් නැති බව දැනිල අධ්‍යාත්මික සහනය හොයාගෙන ආපු නැණ නුවණ තියෙන අය. හැබැයි ඔවුන්ට හරි මාර්ගය වැහිල තියෙන නිසා ඵලයක් ලබන්න අවස්ථාවක් නෑ. හරි මගක් තිබුණ නම් ඔවුන්ට අඩුම ගානෙ ප්‍රථම ධ්‍යානයවත් ලබන්න පුළුවන් වෙන්න ඕන. ඔවුන්ට එහෙම ප්‍රතිඵලයක් ලැබුන නම්, කොයි තරම් දුරට මේ ධර්මය ව්‍යාප්ත වෙයිද? එතකොට බුදු දහම නිරායාසයෙන්ම ලෝකයේ පළවෙනි තැනට එනවා.

හැබැයි ඒක පැත්තකින් තියල, අද ඉන්න බෞද්ධ නායක පිරිස පංච කාමයෙන් මුසපත් වෙලා, කාම පිපාසිතයො වෙලා, කාමය අග්‍ර කරගෙන හිටියොත් මොකද වෙන්නෙ? ටී පනස් හයයි, බෝම්බ ටිකකුයි තියාගෙන පන්සල් රකින්න හමුදාවක් ලෑස්ති කරන්න වෙනවා. තොපිත් මරාගෙන අපිත් මැරෙනවා කියන්න තමයි වෙන්නෙ. හරය වහල, පිට පොත්ත විතරක් රකින්න ගියාම එහෙම තමයි වෙන්නෙ.

ඉතිං මේ කාරණා ටික කිව්වෙ කාටවත් තරහ වෙන්න නෙවෙයි. කාත් එක්කවත් තියෙන අමනාපයකට නෙවෙයි. මේ වෙනකොට බුදු දහමෙ වැහිල තියෙන වටිනා යමක් පෙන්වා දෙන්න. ඒ නිසා නැණ නුවණ තියෙන අය මේ දහම වටහාගෙන තමන්ටත් ලෝකයාටත් යහපතක් සිද්ධ කරගන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ - 0777 302407**

වර්ගය හදාගන්න ඒ කාලෙ මීතිරිගල පැත්තෙ හිටපු සුදු ගුරුන්නාන්සෙ කියල කෙනෙක් හමුවෙන්න ගියා. ඔහු ඒ වැඩවලට බොහොම දක්ෂයි. මොකද ඉතින් පොඩි ගේ පැලක් වුනත් වර්ග බලල හදන එක හොඳයිනෙ. එතකොට තමයි එල දෙන්නෙ. ඒක ප්‍රයෝග සම්පත්තියක්.

ඉතින් ඔහු මුණ ගැහිල ඒ වැඩේ කරගෙන ආපහු එනකොට, ඒ කාලෙ මාත් එක්ක පූගොඩ පෙහෙ කම්හලේ වැඩ කරපු මනුස්සයෙක් හිටියා. ඔහුගෙ බිරිඳ රට ගිහින්. මේ මනුස්සය ඉතින් පාරෙ තියාගෙන කසිප්පු විකුණනවා, බොනවා ඕව තමයි කරන්නෙ. මේ මනුස්සය මාව දැකල එක පාරටම, මචං උඹ දක්ක කල් කියල මගේ කරට අත දාගත්තා. මම ඉතින් ඒ වගේ මිනිස්සුත් එක්ක ඇසුරක් නෑ. ඒ අය ගැන මම කලකිරිල හිටියෙ. මමත් ඉතිං මොකද කළේ තැනේ හැටියට ඇණේ ගහන්න ඕන නිසා, හා මචං මට හදිසි වැඩක් තියෙනවා මම යනවා කිව්වා. එතකොට මේ මනුස්සය කියනවා, එහෙම යන්න බෑ උඹ මගෙන් සංග්‍රහයක් අරගෙන යන්න ඕන කියල. දැන් මේ කියන්නෙ කසිප්පු ටිකක් බීල යන්න කියල. ඉතිං මම බොන්නෙ නෑ කිව්වම, නෑ නෑ ඒව හරියන්නෙ නෑ අද බීලම යන්න ඕන කිව්වා. දැන් ඉතිං මේ මිනිහගෙන් බේරෙන්නම බෑ. පාර අයිනෙ පොඩි පැලක තියාගෙන තමයි ඔහු ඔය වැඩේ කළේ.

ඊට පස්සෙ මේ මිනිහ, එහෙනම් උඹ හෙමිහිට ඔහොම පලයං මං පොඩ්ඩක් ගෙනත් දෙන්නම් කියල අර ගුබ්බෑයමට රිංගුවා. ඒ අතර මම මොකද කළේ පුළුවන් තරම් ඉක්මනට යන්න ගියා. ඊට පස්සෙ මේ මිනිහ එළියට බැහැල කියනවා, යන්න එහෙම එපා ටවුමෙදි අහුවුනොත් බාවනව කියල. මමත් බලාගෙන හිටියෙ නෑ විගහට එන්න ආවා. මොකද මිනිහ බීල ඉන්න නිසා කිසිම විස්වාසයක් තියන්න බෑ. ඊට පස්සෙ ඔහු සරමෙන් භාගයක්ම කරට අරගෙන ඉනේ රබර් පටියකින් ගැට ගහල තිබ්බ්ච කිණිස්සක් ඇද්දා. මට ඉතිං කරන්න දේකුත් නෑ. මම ඉන්නව දැකල, ආ උඹ ඉන්නව නේද කියල තමයි ඒක ඇද්දෙ. ඕක ඇදල අරගෙන මට අනින්න පස්සෙන් පන්නගෙන ආවා. ඒ ප්‍රදේශයේ රෙදි සෝදන මදින කඩයක් (ලොන්ඩ්‍රියක්) තිබුණා. එතන ටිකක් මිනිස්සුත් හිටපු නිසා මම කිව්වා, වැඩක් නැති ඒවා කරන්න එපා, බොන්නෙ නැති අයට බලෙන් පොවන්න හදන්නෙ මොකටද කියල. ඒ හිටපු පිරිසටත් ඇහෙන්නම තමයි මම එහෙම කිව්වෙ. මොකද නැත්නම් මේ මිනිහ මගේ පස්සෙන් පන්නන කොට මිනිස්සු හිතයි මාව හොරෙක් කියල. එහෙම නැත්නම්, මෙන්න හොරෙක් කියල ඔහුම කෑගහල අනෙක් අයටත් ඇහෙන්න කියන්න පුළුවන්.

ඒ නිසා මම ඒ පිරිසටත් ඇහෙන්න කිව්වා, මේ මනුස්සය මෙන්න මෙහෙම කතාවක් කියනවා, නොගැලපෙන දේවල්, මං ඕව බීලත් නෑ බොන්නෙත් නෑ, කිව්වට අහන්නෙත් නෑ කියල. එහෙම කියල මම අර ලොන්ඩ්‍රිය ඇතුලට පැන ගත්තා. එතකොට ඇතුලෙ රෙදි මැද මැද හිටපු මනුස්සයත් මේ මිනිහ පිහියක් අතේ තියාගෙන එනව දැකල ඒ වැඩෙත් නවත්තල පැනල දිව්වා. ඒ ඇඳුම් මදින මේසෙ දෙපැත්තෙ එහා මෙහා යන්න එන්න අඩි එකහමාරක විතර ඉඩ ප්‍රමාණයක් තිබුනා. දැන් ඉතිං මිනිහ එක පැත්තකින් එන්න හදනකොට මම අනික් පැත්තෙන් දුවනවා. දැන් මිනිහට මම ළඟට එන්න විදිහක් නෑ. මම හිතා ගත්තා, දැන් මිනිහ මේසෙ උඩින් පැන්නොත් මම යටින් රිංගල යනවා, මිනිහ යටින් ආවොත් මම උඩින් පැනල යනවා, බැරිම වුනොත් මේසෙත් එක්ක අනෙක් අතට පෙරලගෙන යනව කියල. මොකද වෙන කරන්න දෙයක් නෑ. ඉතින් කොහෙන්හරි බේරිලා යන්න පුළුවන්. ඒ පාර මිනිහට දැනුනා මාව අල්ලන්න ළඟට එන්න බැරි බව. ඒ පාර ඔහු මගෙන් අහනවා, උඹ මගෙන් සංග්‍රහයක් ගන්නෙම නැත්ද කියල. මම නෑ කිව්වම, එහෙනම් වරෙන් තේ එකක් බොන්න කිව්වා. මම කිව්වා, හා එහෙනම් එන්නම් ඒකනම් ප්‍රශ්නයක් නෑ කියල. ඊට පස්සෙ, මම එහෙම අනින්නෙ නෑ බං, ඕං කියල අර පිහිය නැවතත් ඉනේ තිබ්බ්ච රබර් පටිය අස්සෙ දාගෙන සරමත් පහළට දැම්මා. දැන් මම දන්නවා නැවත පිහිය අදින්න නම් සරම උඩට ගන්න එපැයි. ඒ නිසා කමක් නෑ කියල හිතුවා.

ඒ පාර ඉතිං, හා දැන් යං කියල ඒ ළඟපාත තිබ්බ්ච කඩේකට ආවා. මේ සිද්ධිය දැකල ඒ කඩේ මුදලාලිත් බයේ වෙව්ලනවා. මොකද මේ පුද්ගලය මේ වගේ කෙනෙක් කියල ඒ පළාතෙ අය දන්නවා. ඕං මුදලාලි මේ අපේ මහත්තයෙක්, තියෙන ඒවා සංග්‍රහයට තියන්න කිව්වා. මුදලාලිත් ඉතිං මේ මිනිහට තියෙන බයටම, හා ගන්න මහත්තය කියල කෝලිකුට්ටු ඇවරි පිටින්ම කපල, තිබ්බ්ච ඔක්කොම ඒවත් එක්ක මේසෙ උඩ ගෙනත් තිව්වා. ඊට පස්සෙ තේ එකකුත් දුන්නා. මම ඒකත් බීල ඉන්නකොට මේ මිනිහ මට සිගරට් එකකුත් දුන්නා. මම සිගරට් බොන්නෙ නෑ. ඒත් මම ඕක ගන්නෙ නෑ කිව්වොත් ඒකත් කලින් වගේම ප්‍රශ්නයක් වෙන නිසා, බොරුවට සිගරට් එකත් පත්තු කරල මම යන්නම් කියල හනිකට පැන ගත්තා. මගට ගිහින් සිගරට් එක විසි කළා.

දැන් මට එන්න ඕනකම තිබුනෙ ගෝනගල්දෙණියට. මේ සිද්ධිය වුනේ මැදගම කියන ප්‍රදේශයෙදි. නමුත් මේ මිනිහ මග අරින්න ඕන නිසා පැත්තක් බල බල ඉන්න විදිහක් නෑ, බස් එකක් ආපු පැත්තට යනව කියල ඉන්නකොටම පූගොඩ පැත්තෙන් බස් එකක් ආවා. හැබැයි ඒක ප්‍රතිවිරුද්ධ පැත්තට යන එකක්. නමුත් කරන්න දෙයක් නෑ, මේ මිනිහ මග අරින්න ඕන නිසා මම ඒකෙ නැගල ඔහුව නොපෙනෙන කල් ගිහින් දංගල්ල කියන ප්‍රදේශයෙන් බැස්සා. මිනිහගෙන් බේරිලා යන්න තමයි එහෙම කළේ. දැන් ඔහු දන්නව මම ගියා කියල. ඊළඟට වේයන්ගොඩ බස් එකේ නැගල නැවතත් ඌරපොළට ආවා. එතනින් තමයි රුවන්වැල්ල බස් එක අරගෙන ගෙදර ආවෙ. ඉතිං අර මනුස්සයගෙන් බේරෙන්න මහ වටයක් ගහන්න වුනා. ඕනවට වඩා බිව්වම ඔය වගේ අවස්ථා එන්න පුළුවන්. අසත්පුරුෂයෙක් වෙන්න බොහොම පොඩි වෙලාවයි යන්නෙ. දැන් මේ කසිප්පු ටිකක් බිව්වෙ නෑ කියල මිනිහෙක් මරන්න තරම් දෙයක් නෙවෙයිනෙ. නමුත් ඒ අවස්ථාවෙ හැටියට මිනිහ ගැන කිසිම විස්වාසයක් තියන්න බෑ. මොකද හොඳටම බීල හිටියෙ.

ඒ වගේ තවත් අවස්ථාවකදි බීපු මනුස්සයෙක් නිසා මම ලොකු අකරතැබ්බයකට මුහුණ දුන්නා. ඔහු තාමත් ඒ ගමේ ජීවත් වෙන නිසා නම සඳහන් කරන්න හොඳ නෑ. මාත් එක්ක පුංචි කාලෙ ඉඳන්ම එකට ඉස්කෝලෙ ගිය යාළුවෙක්. පොඩි කාලෙ ඉස්කෝලෙට බාර දුන්නෙත් එකටමයි, එක පංතියේ හිටියෙ. ඒ කාලෙ ජොෂ්යේ පංතියට (SSC) යනකල්ම එකට හිටියෙ. ඊට පස්සෙ මහ කන්ද ආරණ්‍යයට දානෙ දෙන්නත් ඔහු මාත් එක්ක කිහිප වතාවක්ම ගියා. ඉතිං මේ එකට කතාබහ කරගෙන

හිටපු යාළුවෙක්. හැබැයි මම දැනගෙන හිටියෙ නෑ ඒ වෙනකොට ඔහු ඒ තරම් පහත් තත්වයට වැටිල ඉන්න බව.

දවසක් මේ මනුස්සය ගෝනගල්දෙණිය කඩපොළේදි හොඳටම බීල වැඩිවෙලා තමන්ගෙ සාක්කුවේ තියෙන සල්ලිත් එළියට ඇදල දානවා. පස්සෙ මම ඇහුවා, මොකද ආ... අද වැඩිවෙලාද කියල. එහෙම කියල අර බිම වැටිච්ච සල්ලි ටික අහුලල ඔහුගෙ සාක්කුවට දැම්මා. ඒ පාර ආයෙත් සැරයක් සල්ලි ටික ඇදල බිමට දැම්මා. මම ආයෙත් අහුලල මිනිහගෙ සාක්කුවට දැම්මා. ඒ පාර කඩේ හිටපු මුදලාලි කිව්වා, අනේ මල්ලි පුළුවන් නම් කොහොම හරි මේ මනුස්සය ගෙදරට ඇරලවන්න කියල. ඒ පාර මේ මනුස්සය නැවතත් සල්ලි ටික ඇදල මගේ සාක්කුවට එබුවා. මම ඉතිං අර කඩේ මුදලාලිත් ඉන්න තැන, ගැනල බලන්නකො කියල සල්ලි ටික මුදලාලිට දුන්නා. ඔහු ඒ ටික ගැනල කොළේක සටහන් කරල ලකුණකුත් දාල දුන්නා. මම ඉතින් ඕකත් මිනිහට දීල, යමු කියල ගෙදර එක්කගෙන ගියා. ඒ පාර ටික දුරක් ගිහින් මිනිහ මට කියනවා, අතැරපං මාව අතැරපං කියල. හරියටම කඩපොළ මැදදි. දැන් ඉතිං මටත් හරි ලැජ්ජයි. මොකද ඔහොම දේකට මම මීට කලින් අතගහල නෑ. මේ සෙනගත් බලන් ඉන්න තැන.

ඊට පස්සෙ මේ මනුස්සය, මම කඩනව සරම කියල අර සෙනගත් බලාගෙන ඉදෙද්දි තමන් ඇඳගෙන හිටපු සරම කැඩුවා. ලැජ්ජාවෙ බෑ. එතකොට මම සරමත් එක්ක අල්ලගෙන ඔහු කඩපොළෙන් එහාට ඇදගෙන ගියා. මිනිහට ඕකට තරහ ආවා. පස්සෙ මම ගෙදරට ගෙනිහින් ගෙදර අයටත් ඇහෙන්න කිව්වා, මෙන්න මේ සල්ලි ටික ආං කඩේ මුදලාලි අයියත් සාක්කි, එයා මේක ගැනල සටහනකුත් දාල ඇති කියල. එහෙම කියල මම මනුස්සයට කිව්වා, වෙරි හිඳෙනකල් පොඩ්ඩක් බුදියගන්න කියල. එතකොටම මේ මනුස්සය හිනා වෙලා එළියට බැහැල, සාක්කුවේ තිබ්බ්ච මාරු සල්ලි ටික බිමට දාල මට කියනවා මේ ටික අහුලපං කියල. දැන් මට බේරෙන්න විදිහකුත් නෑ. මම එක පාරක් අහුලලත් දුන්නා. ඒ පාර මේ මනුස්සය ආයෙමත් අර සල්ලි ටික බිම දාල මට කියනවා අහුලපං කියල. බැරිම තැන මම කිව්වා, ඕක අහුලන්න මට වෙලාවක් නෑ මං යනව කියල. ගියොත් මම පස්සෙන් පන්නනවා, මගේ ගැනි ගන්න ඇවිත් අබේ අහුවුනා කියල මම කෑ ගහනව කියල මේ මිනිහ කිව්වා.

දැන් ඉතිං මේ මිනිහගෙ තියෙන බේබදුකමට කෑ ගහල මේ වගේ අභූත චෝදනාවක් කළොත් ලැජ්ජාවෙ බෑ. ඒ නිසා මට කඩපොළ මැද්දෙන් දුවන්නත් බෑ. මම මොකද කළේ, පිට්ටනිය මැද්දෙන් පොඩි පාරක් තියෙනවා, අන්න ඒකෙන් යන්න ගියා. යනකොටම මේ මිනිහ මට විසාල ගලකින් දමල ගැහුවා. ඒක කන ළඟින්ම සද්දෙට ගියා. වැදුන නම් මැරිල වැටෙනවා. මොකද උඩ ඉඳල පල්ලෙහාට ගැහුවෙ. මම අනූ නවයෙන් බේරුනේ. ඊට පස්සෙ මේ මිනිහ, මෙන්න අබේ මගේ ගැනි එක්ක එකට ඉඳල අහුවෙලා පැනල දුවනවෝ කියල කෑ ගහන්න පටන් ගත්තා. එහෙම කෑ ගහල, උඹ පලයං මං උඹේ ගෙදරටත් එනව කිව්වා. දැන් ඉතිං මම මොනව කියන්නද? කොහේවත් යන හෙණයක් මගේ ඇඟට පාත් වුනේ. එතකොට මම පුතත් එක්ක ඇවිත් පුතාව කඩපොළේ තියල තමයි මේ මිනිහව ඇරලවන්න ආවෙත්. එතකොට ඔහු අවුරුදු 6 - 7 ක විතර පුංචි ළමයෙක්. කඩපොළේ එහා කෙළවරේ තියෙන දන්න අඳුනන කඩයක තමයි නතර කළේ. පුතා පොඩ්ඩක් ඉන්න මම කොත්තමල්ලි පැකට් එකක් අරන් ඉක්මනට එනකල් කියල, මම පාරෙ අනික් පැත්තෙ තියෙන කඩේකට ගියාම තමයි මේ සිද්ධිය වුනේ. දැන් මම එනකොට මේ ළමය හොඳටම අඬනවා තාත්ත එන්න පරක්කු වුනා කියල. මොකද මම හිතුවෙ නෑ අර වගේ දේකට අතගහන්න වෙයි කියල. ඊට පස්සෙ මම පුතාවත් ගෙදරට ඇරලල, මේ මිනිහ අපේ ගෙදරටත් එනව කියල තර්ජනය කරපු නිසා, ආවොත් ඕකට ගහනව කියල පොල්ලකුත් අතේ තියාගෙන මාත් ලෑස්ති වෙලාම වත්ත පහළට වෙලා මේ මිනිහ එනකල් බලාගෙන හිටියා. ඔහු එහෙම එනව කිව්ව නිසාමයි මමත් සූදානම් පිට හිටියෙ. නමුත් පැත්ත පළාතකවත් ආවෙ නෑ. හැබැයි ඇත්තටම අතපය කැඩෙන්න ගහන්න නෙවෙයි, දඬුවමක් විදිහට බය කරන්න තමයි මම එහෙම හිටියෙ. මොකද අනුන්ගෙ අතපය කඩන්න තරම් මානසිකත්වයක් මට එදත් තිබුනෙ නෑ. එහෙම අදහසක් එන්නෙ නෑ.

ඊට පස්සෙ දවසක වෙන ගමනක් යන්න මට මේ මනුස්සයගෙ ගේ ඉස්සරහින් යන්න සිද්ධ වුනා. ඒ කියන්නෙ කඩපොළට ටිකක් එහා පාර අයිනෙමයි මනුස්සයගෙ ගෙදර තිබුනෙ. ඒ වෙලාවෙ මට තරහක් තිබුනෙත් නෑ. මම එතන පහු කරල යනවත් එක්කම මේ මිනිහ එබී එබී බලාගෙන ඉඳල දෙකට නැමිල මගේ පස්සෙන් ආවා. ඒ වෙලාවෙ බීල හිටියෙ නෑ. පිටිපස්සෙන් ඇවිත් මට, අබේ කියල කතා කළා. මම ඇහුවා ඇයි කියල. ඊයෙ මං අතින් ලොකු වරදක් සිද්ධ වෙලා තියෙනවා, ඉතින් මට සමාවෙන්න ඕන, බීපු වෙලාවට නම් මං තනිකර බල්ලෙක්, මම ගැන දන්නෙ නැත්ද... කියල මිනිහම කියන්න ගත්තා. මම කිව්වා, නෑ නෑ මට ඔයා ලොකු පාඩමක් ඉගැන්නුවෙ කියල. මීට පස්සෙ අපේ තාත්ත ජීවත් වෙලා ඉන්න කාලයක තාත්ත බීල පාරෙ වැටිල ඉන්නව කිව්වත් මම නම් ජීවිතේට අතගහන්න යන්නෙ නෑ කිව්වා. එහෙම කෙනෙකුට මම මීට පස්සෙ උදව් කරන්නෙ නෑ, මට හොඳ පාඩමක් ඔබ ඉගැන්නුවෙ කියල කිව්වා.

මම එහෙම කිව්වම, ඉතින් මාත් එක්ක අමනාපද ඇහුවා. මම කිව්ව නෑ මම පොඩ්ඩක්වත් අමනාපයක් නෑ කියල. එහෙනම් යමු මං ගානෙ තේකක් බොන්න කියල ළඟපාත තිබ්බ්ච තේ කඩයකට එක්කගෙන ගිහින් මට තේ එකකුත් අරන් දීල පාපොච්චාරණය කළා. මම අතින් මෙහෙම දේවල් වෙනවා, බිව්ව වෙලාවට මටම තේරෙන්නෙ නෑ මං මොනව කරනවද කියල, ඒ වෙලාවට මං බල්ලෙක් වගේ වැඩ කරන්නෙ, මට සමාවෙන්න කිව්වා. මම කිව්ව ඉතින්, නෑ නෑ මගේ කිසි තරහක් නෑ කොහොමත් මම තරහ හිතේ තියාගන්නෙ නෑ, මට ආදර්ශයක් දුන්න එක නම් ලොකු දෙයක් කියල. එහෙම කියල වෙන ගමනක් යන්න තියෙනව කියල මම හනිකට ගියා. ඉතිං බීපු වෙලාවට මේ මිනිහ මෙහෙම කෙනෙක් කියල මම දැනගෙන හිටියෙ නෑ. මගෙන් කිසිම වරදක් නොවී මම ඔහුට උදව් කරලත් අර වගේ අභූත චෝදනාවක් ආවා. තව ඩිංගෙන් ගල් පාරත් ඔළුවෙ වැදිල මැරෙනවා. එහෙම දේවල් මාර පාක්ෂිකයො විසින් මෙහෙය වන්නත් පුළුවන්. මොන විදිහෙ හොඳ දේවල් කරගෙන හිටියත් මේ සංසාරෙ නම් ඉන්න හොඳ තැනක් නෙවෙයි කියන කාරණය මේ වගේ දේවල්වලින් තේරුම් ගන්න ඕන.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඔබ ප්‍රඥාවන්තයෙක් ද?

**4 වන කොටස**



**ශ්‍රාවක :** කලින් සාකච්ඡාවෙදි මට ඕන වුනා ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කිරීම ගැන දැනගන්න. අද අපි ඒ ගැන විස්තර ඇතිව කතා කරමු.

**දේශක :** ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියන්නෙ හතර වන ආර්ය සත්‍යයට. අපේ බුදු රජාණන් වහන්සේ දේශනා කළා, මේ ලෝකයේ ඇත්ත හතරක් තියෙනව කියල. ඒ හතරට තමයි අපි චතුරාර්ය සත්‍යය කියල කියන්නෙ. සිංහලෙන් කියන්නෙ සිවු අරිසස් කියල.

**ශ්‍රාවක :** එහෙනම් අපිට ඔය ඇත්ත හතර ගැනම කතා කරන්න වෙනව නේද ?

**දේශක :** ඔව්. ඔය ඇත්ත හතර දැක්කෙ නැති අය මේ ලෝකයේ දිගින් දිගටම සැරිසරන බවත්, එයින් අති බහුතරයක් සතර අපාගත වන බවත්, මේ ඇත්ත හතර දැක්ක අය මේ ලෝකෙන් මිදෙන බවත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. (<u>මනුස්ස චුති සූත්‍රය</u> - සංයුක්ත නිකාය 5 - 2)

**ශ්‍රාවක :** මම මේ ලෝකෙන් මිදෙන්න ඕන ඇයි ? ලෝකෙට යහපතක් කරන්න මේ ලෝකෙ සැරිසරන එක නරක වැඩක්ද ?

**දේශක :** මේ ඇත්ත හතර දැක්කෙ නැති හැමෝම හිතන්නෙ ඔය විදිහට තමයි. ප්‍රඥාවෙන් ඔය ඇත්ත දැක්ක කවුරුවත් ලෝකයේ මතුවටත් ඉන්න නම් හිතන්නෙ නෑ.

**ශ්‍රාවක :** නමුත් මේ ලෝකෙ ඉන්න අති බහුතරයක් ඔය විදිහට හිතන්නෙ නැත්තෙ ඇයි ?

**දේශක :** ඒක තමයි අවිද්‍යාව කියල කියන්නෙ. මේ ඇත්ත දැක්කෙ නැති කවුරුත් ඉන්නෙ අවිද්‍යාව තුල. ඒක පහසුවෙන් කෙනෙකුට දකින්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒකට තමයි කල්‍යාණ මිත්‍ර ඇසුරක් අත්‍යවශ්‍යම වෙන්නෙ.

**ශ්‍රාවක :** අපේ කල්‍යාණ මිත්‍රයන් වන දෙමාපියන්, ගුරුවරුන්, වැඩිහිටියන්, හොඳ මිතුරන් සියලු දෙනාම අපිට උපදෙස් දෙන්නෙ මේ ලෝකයේ හොඳින් ජීවත් වෙන්න කළ යුතු දේවල්. ඒ උපදෙස් අනුව තමයි බොහෝ දෙනෙක් තමන්ගෙ ජීවිතය සාර්ථක කරගන්නෙ. ඒ අය අපේ කල්‍යාණ මිත්‍රයො නෙවෙයිද ?

**දේශක :** ලෝක සම්මත වශයෙන් ගත්තම ඒ අය කල්‍යාණ මිත්‍රයො තමයි. නමුත් අපේ බුදු රජාණන් වහන්සේගෙ මග පෙන්වීම අනුව නම් කල්‍යාණ මිත්‍රයෙක් කියන්නෙ, මේ ලෝකෙ ඇත්ත හතර දැක්ක කෙනෙක්. ඒ කෙනා දන්නවා, මේ ඇත්ත නොදැක්ක හැම දෙනාම මහ විනාසයකට ගොදුරු වෙනව කියල. ඒ නිසා දයානුකම්පාවෙන් තමන් දැනගත්ත සත්‍යය තමන්ගෙ හිතමිතුරන්ටත් කියල දෙන්න උත්සාහ කරනවා. ඒ විතරක් නෙවෙයි, මේ සත්‍යය දැක්ක අය ඒක අනෙක් අයට කියල දෙන්න තමන්ට හැකියාවක් නැති බව තේරුම් අරගෙන තිබුනොත්, ඒ හැකියාව සහිත කෙනෙක් ළඟට තමන්ගෙ නෑදෑ හිතමිතුරන්ව එක්කගෙන යන්න ප්‍රබල උත්සාහයක යෙදෙනවා.

**ශ්‍රාවක :** ඒක තමයි මගේ යාළුවොත් මාව මේ ධර්ම සාකච්ඡාවට එක්කගෙන ආවෙ. ඒ අයත් මට සෑහෙන්න වද කළා. ඒ අයගෙන් බේරෙන්න බැරි තැන තමයි මමත් මේ සාකච්ඡාවට සම්බන්ධ වුනේ. හැබැයි මම දැන් දන්නවා, ඒ අය එච්චරම මං ගැන වෙහෙසුනේ ඇයි කියල.

**දේශක :** ඔය විදිහට ඉතාම කලාතුරකින් තමයි මේ සත්‍යය දැක ගන්න අවස්ථාව ලැබෙන්නෙ. ඔබත් අහල තියෙනව නේද මේ චතුරාර්ය සත්‍යය ගැන?

**ශ්‍රාවක :** ඔව්, මම ඔය සත්‍යය ගැන පාසල් යන කාලයේ ඉඳලම දන්නවා. දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මාර්ගය. එහෙම හරි නේද?

**දේශක :** ඔව්. ඔබ විතරක් නෙවෙයි, ලංකාවෙ බෞද්ධ අය හැමෝම ඕක දන්නවනෙ. බෞද්ධ දර්ශනය පිළිබඳව සාමාන්‍ය පෙළ, උසස් පෙළ පමණක් නෙවෙයි, ආචාර්ය මහාචාර්ය මට්ටමේ විවිධ උපාධිත් ලබාගන්නවා. ඒ හැමෝම කියන්නෙත් ඔය හතරම තමයි.

**ශ්‍රාවක :** මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වුන

නිසා මම දන් දන්නවා, ඔය වචනවලින් කියවෙන සාමාන්‍ය අර්ථයට වඩා මහ ගැඹුරු අර්ථයක් තියෙන බව. අඩුම ගානෙ විශ්ව විද්‍යාලවලවත් ඒ ගැඹුරු ධර්මය උගන්වන්නෙ නැත්ද ?

**දේශක :** ඒක නම් මම හරියටම කියන්න දන්නෙ නෑ. නමුත් මට හමුවෙලා තියෙන, ඒ මට්ටමට ඉගෙනගෙන තියෙන අයට නම් මීට කලින් කල්‍යාණ මිත්‍රයෙක් හමුවෙලා නැති බව තමයි පේන්න තිබුනෙ.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ කොච්චර ඉහළට ඉගෙන ගත්තත් මේ ලෝකයේ ඇත්ත හතර දකින්න පුළුවන් කමක් නැත්ද ?

**දේශක :** ඉහළ පහළ කෙසේ වෙතත්, කල්‍යාණ මිත්‍රයෙක් හමුවුනොත් විතරම තමයි මේ සත්‍ය හතර ඔබට දකින්න පුළුවන් වෙන්නෙ. ඒකට එකම ක්‍රමයයි තියෙන්නෙ. ඒ තමයි කල්‍යාණ මිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම ප්‍රතිපදාව කියන අංග හතර සම්පූර්ණ කර ගැනීම. ඔය අංග හතර ඇතුලෙ සාමාන්‍ය පෙළ, උසස් පෙළ, විශ්ව විද්‍යාල උපාධිය වගේ යම් අධ්‍යාපන සුදුසුකමකුත් අවශ්‍යයි කියල තිබුණද?

**ශ්‍රාවක :** ඔව්. දැන් මට තේරුනා. හැබැයි ඔය විශ්ව විද්‍යාලයකදි හරි කොහෙදි හරි කමක් නෑ, කල්‍යාණ මිත්‍රයෙක් හමුවෙලා ශ්‍රී සද්ධර්මය අහගත්තොත් හරි නේද ?

**දේශක :** හරියටම හරි. ඒක තමයි විය යුත්තෙ. කොහොම වුනත්, කවුරු හරි මේ බෞද්ධ දර්ශනය ඉගෙන ගන්න එක නම් ඉතාමත් අගය කළ යුතු දෙයක්. මොකද ඒ නිසා ලෞකික වශයෙන් හරි මේ ධර්මය ආරක්ෂා වෙලා ඉදිරි පරපුරට යනවා. ලෞකික වශයෙන් වුනත් ඒකෙන් මේ සමාජයට යහපතක්ම තමයි වෙන්නෙ.

**ශ්‍රාවක :** චතුරාර්ය සත්‍යය තුලින් විස්තර කරල තියෙන්නෙ දුකක් ගැනනෙ. ඒත් දුක කියන එක අපි හැමෝම දන්න දෙයක්. ඒ වගේම අත්දකින දෙයක්. ඉතිං ඒකෙ මොකක්ද තවත් ගැඹුරින් දකින්න තියෙන්නෙ?

**දේශක :** ඔය හැමෝම දන්නෙ විඳින දුකනෙ. මේ දුක්ඛ සත්‍යය කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මොකක්ද කියල අපිට හරියටම දැනගන්න පුළුවන් ක්‍රමවේදයක් ගවම්පති සූත්‍රයෙන් පැහැදිලි කරල දෙනවා. (සංයුක්ත නිකාය 5 - 2, 293 පිටුව) ඒකෙ සඳහන් වෙන කරුණු හොඳින් තේරුම්ගන්න කාට වුනත් වැටහෙනවා, කවුරු හරි මේ දුක්ඛ සත්‍යය දැක්කොත් ඒ පුද්ගලයා ඉතිරි සත්‍ය තුනත් එවෙලෙම දකින බව.

**ශ්‍රාවක :** එහෙනම් අපිට සත්‍ය හතරක් දකින්න කියල වෙන වෙනම උත්සාහ කරන්න දෙයක් නෑ. පළමුව තියෙන දුක්ඛ සත්‍යය දැක්ක නම්, ඉතුරු සත්‍ය තුනත් එවෙලෙම දකිනවා.

**දේශක :** ඔව්, හරියටම හරි. දැන් කල්පනා කරල බලන්න, ඔබත් ඕන තරම් දුක් විඳල ඇතිනෙ. ඒ වෙලාවෙ ඔබ දුක දැක්ක නම්, දුකට හේතුවයි, දුක නැති කරන ක්‍රමයයි, ඒ සඳහා අනුගමනය කළ යුතු ආර්ය අෂ්ඨාංගික මාර්ගයයි කියන චතුරාර්ය සත්‍යය දකින්න ඕන නේද ?

**ශ්‍රාවක :** ගවම්පති සූත්‍රයෙන් පැහැදිලි කරල දෙන කරුණු කාරණා අනුව නම් එහෙම වෙන්න ඕන තමයි. හැබැයි ඉතිං මට නම් එහෙම වුනේ නෑ.

**දේශක :** ඒකෙන් ඔබටම තේරුම් ගන්න පුළුවන්, මේ **දුක්ඛ සත්‍යය කියන්නෙ අපි විඳින දුක නෙවෙයි කියල. දුක්ඛ සත්‍යය කියන්නෙ විශේෂ ඥානයක්. ඒක දකින්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාවන්තයින්ට විතරයි.**

**ශ්‍රාවක :** ඒ වුනත් මම කියවල තියෙන ධම්ම චක්කප්පවත්තන සූත්‍රයෙන් (සංයුක්ත නිකාය 5 - 2, 271 පිටුව) දුක්ඛ සත්‍යය පෙන්වල දීල තියෙන්නෙ ඉපදීම දුකයි, ලෙඩවීම දුකයි, වයසට යන එක දුකයි, ප්‍රියයන්ගෙන් වෙන්වීම දුකයි... ආදී වශයෙන්. එතනදි පෙන්වල දෙන්නෙ විඳින දුක් ගැන නෙවෙයිද ?

**දේශක :** නිකං කියාගෙන යනකොට නම් එහෙම තමයි හිතෙන්නෙ. ඒක සාරාංශ කරල ලියල තියෙන දෙයක්. ඔය සූත්‍රය දේශනා කරන්න පැය 33 ක් විතර ගතවෙලා තියෙනවා. නමුත් ලියල තියෙන්නෙ කොළ දෙකක. පැය 33 ක් තිස්සේ දේශනා කරපු දේවල් කොළ දෙකකට ගන්නකොට කොච්චර කෙටි කරන්න වෙනවද ? එතනදිත් ඔබට මම ගිය වතාවෙ කියල දීපු අර මාගන්දිය සූත්‍රයෙන් විස්තර කරල තියෙන ආරෝග්‍යයට, ඇගේ පතේ නිරෝගිකම කියල වැරදියට තේරුම් ගත්ත වගේ වැඩක් තමයි වෙන්නෙ.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මම මේ සූත්‍රයෙන් පෙන්වන දහම් කරුණුත් වැරදියට වටහගෙන තමයි මෙච්චර කල් ඉඳල තියෙන්නෙ ? ඉතිං අපිට පාසලේදිත් ඉගැන්නුවෙ ඔය විදිහටමනේ ?

**දේශක :** පාසලේදි විතරක් නෙවෙයි, විශ්ව විද්‍යාලයේදි ධම්ම චක්කය ඉගැන්නුවෙත්, උගන්වන්නෙත් ඔය විදිහටම තමයි. මේ ධර්මය ඉගෙන ගැනීමයි, කල්‍යාණ මිත්‍ර සේවනයකින් ශ්‍රී සද්ධර්මය අහනවයි කියන්නෙ සම්පූර්ණයෙන්ම වෙනස් කාරණා දෙකක්. අපිට කෙලින්ම කියවල තේරුම් ගන්න පුළුවන් සූත්‍රත් ත්‍රිපිටකයේ තියෙනවා. සැරියුත් මහරහතන් වහන්සේ දේශනා කරල තියෙන සච්ච විභංග සූත්‍රය ඒ වගේ එකක්. (මජ්ජිම නිකාය 3, 513 පිටුව) ටිකක් ගැඹුරින් විමර්ශනය කරල බැලුවොත් ඒකෙන් අපිට දුක්ඛ සත්‍යය පැහැදිලිව තේරුම් ගන්න පුළුවන්.

**ශ්‍රාවක :** ඒ සූත්‍රයෙන් දුක්ඛ සත්‍යය විග්‍රහ කරල තියෙන්නෙ, ධම්ම චක්කප්පවත්තන සූත්‍රයෙන් දේශනා කරල තියෙන විදිහට නෙවෙයිද ?

**දේශක :** දෙකෙන්ම කියල තියෙන්නෙ එකම දුක්ඛ සත්‍යය ගැන තමයි. හැබැයි පැහැදිලි කරල දෙන ආකාරය වෙනස්. ධම්මචක්කප්පවත්තන සූත්‍රය නැවත දේශනා කරන්න කියල අලුතින් පැවිදි වෙච්ච භික්ෂූන් වහන්සේලා පිරිසක් ඉල්ලීමක් කරපු වෙලාවෙදි, බුදු රජාණන් වහන්සේ තමයි උන්වහන්සේලාට සැරියුත් මහ රහතන් වහන්සේගෙන් විස්තර සහිතව අහගන්න කියල උපදෙස් ලබා දුන්නෙ. ඊට පස්සෙ තමයි උන්වහන්සේ මේ සච්ච විභංග සූත්‍රය දේශනා කළේ. ඒකත් ධම්ම චක්කප්පවත්තන සූත්‍රයම තමයි. ඒත් නම වෙනස්. සච්ච විභංග කියන්නෙ සත්‍යය බෙදල පෙන්වා දෙනවා කියන එකට.

**ශ්‍රාවක :** එතකොට ඉපදීම දුකයි, වයසට යාම දුකයි, ලෙඩවෙන එක දුකයි කියල විස්තර කරල තියෙන එක වැරදිද ?

**දේශක :** වැරදියි කියල කියනව නෙවෙයි. මතුපිටින් පේන අර්ථයෙන් ගැඹුරු අර්ථය ඉස්මතු කරගන්න වෙනවා. ඉපදෙන එක, ලෙඩවෙන එක, මැරෙන එක... ආදී **මේ ලෝකෙ ඇසුරු කරල විඳගන්න සියල්ලම දුකක් වෙන්නෙ තමන්ගෙ කැමැත්තට අනුව ඒ ඒ දේවල් සිද්ධ නොවන නිසා** කියල තමයි සච්ච විභංග සූත්‍රයෙන් පෙන්වල දීල තියෙන්නෙ. එතනදී "යං පිච්චං නලබති තම්පි දුක්ඛං" කියල කියවෙන පාලි භාෂාවෙන් දක්වා තියෙන අර්ථයෙන් විග්‍රහ වෙන "යමක් තමන්ගෙ කැමැත්තට අනුව නොලැබේ නම් එතන ඇති වෙන්නෙ දුකක්" කියන ධර්මතාවය යටතට සියලු දුක් අඩංගු වෙන බව විස්තර සහිතව පැහැදිලි කරල දෙනවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මේ ලෝකෙ කාට හරි දුකක් එනව නම් අනිවාර්යෙන්ම ඒ පුද්ගලය කැමති නැති දෙයක් සිද්ධ වෙලා තියෙන්න ඕන කියන එක නේද ?

**දේශක :** ඔව්, ඒක තමයි. ඔබටත් දැන් මේ ලෝකෙන් යමක් ඇසුරු කරන කොට දුකක් එනව නම්, ඒක එන්නෙත් ඔබ කැමති වෙච්ච ආකාරයට ඒ ඒ දේවල් සිද්ධ වුනේ නැති වෙලාවට විතරමයි.

**ශ්‍රාවක :** ඔව් දැන් මට තේරුනා. මමත් දුක් විඳල තියෙන්නෙ ඔය වගේ අවස්ථාවලදී තමයි. දුකෙන් මිදෙන්න නම් මම මොකද කරන්න ඕන ?

**දේශක :** මමයි ඔබෙන් ඔය ප්‍රශ්නය අහන්න හිටියෙ. දැන් ඔබට කැමති විදිහට මේ ලෝකෙ දේවල් සිද්ධ වුනේ නැත්නම් ඔබට දුකක් දැනෙනවා. ඒ නිසා දුකෙන් මිදෙන්න නම්, එක්කො ලෝකය ඔබට කැමති විදිහට සකස් කරල තියා ගන්න ඕන. එහෙමත් නැත්නම් ලෝකයට තියෙන්න ඇරල ඔබේ කැමැත්ත සම්පූර්ණයෙන්ම අයින් කරගන්න ඕන. මේ දෙකෙන් කෝකද ඔබට කරන්න පුළුවන් වෙන්නෙ ?

**ශ්‍රාවක :** ලෝකය අපිට කැමති විදිහට තියාගන්නව කියන එක නම් ඉතිං කොහොමටවත්ම කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. හැබැයි ඉතිං ලෝකයට තියෙන මගේ කැමැත්ත අයින් කරගන්න උත්සාහ කරන්න පුළුවන් වෙයි කියල මට හිතෙනවා.

**දේශක :** එහෙම හිතෙනව නම්, ඔබ දැන් ඔය ලෝකෙ ඇසුරු කරන්න ගිහින් දුකට පත් වෙන හේතුව දන්නවා. මොකක්ද ඒ හේතුව ?

**ශ්‍රාවක :** මගේ කැමැත්තනෙ. මම ඉතිං මේ ලෝකෙ දේවල්වලට කැමැත්තක් හදාගෙන ඉන්න නිසානෙ ඒ කැමැත්ත අනුව දේවල් සිද්ධ නොවෙන කොට දුකක් එන්නෙ.

**දේශක :** ඇත්තටම ඔබට දුකෙන් මිදෙන්න ඕනකමක් තියේ නම් මොනවද කළ යුත්තෙ ?

**ශ්‍රාවක :** මගේ තියෙන කැමැත්ත සම්පූර්ණයෙන්ම නැති කරගත්තම හරිනේ. මේ ලෝකෙ තියෙන කිසිම දෙයකට කිසිම කැමැත්තක් නැත්නම්, කායික විපාක දුක හැර මට මානසික දුකක් එන්න ක්‍රමයක් ඇත්තෙම නෑනෙ.



**දේශක :** හොඳයි, සම්පූර්ණයෙන්ම කැමැත්ත නැති කරගන්න ඔබට පුළුවන් වෙයි. නමුත් කොහොමද ඔබ ඒක පටන් ගන්නෙ? මොනව කරලද ඔබ ලෝකය ඇසුරු කරන්න තියෙන කැමැත්ත නැති කරගන්නෙ?

**ශ්‍රාවක :** ඒක තමයි මටත් තියෙන ප්‍රශ්නය. මේ ලෝකයේ තියෙන ගොඩක් දේවල්වලට මගේ කැමැත්තක් ඇති වෙනවනෙ. කැමැත්තක් නැතිව දේවල් සිද්ධ වෙනකොට ලොකු අපහසුතාවයක් දැනෙනවනෙ.

**දේශක :** ඒ ඔබ මේ ලෝකෙ හැටි දන්නෙ නැති නිසා. ඔබට පුළුවන් වුනොත් ලෝකෙ හැටි හරියටම දැනගන්න, ඊට පස්සෙ ඉඳල නම් ලෝකෙට කැමති වෙන එකක් නෑ.

**ශ්‍රාවක :** මම කොහොමද ඒක දැන ගන්නෙ ?

**දේශක :** අන්න එතනදී තමයි ඔබට කල්‍යාණ මිත්‍රයෙක් අත්‍යවශ්‍ය වෙන්නෙ. කල්‍යාණ මිත්‍රයෙක් නැතිව ඔබට ඒක දැනගන්න වෙන ක්‍රමයක් නම් නෑ.

**ශ්‍රාවක :** වෙන ක්‍රමයක් ඇත්තටම නැද්ද ? පොත් බලල, එහෙමත් නැත්නම් සී. ඩී. තැටිවලින් බණ අහල බැරිද ?

**දේශක :** නෑ එහෙම ක්‍රම නෑ. කල්‍යාණ මිත්‍රයෙක් නැතිව එහෙම පුළුවන් වෙනව නම්, එහෙම සිද්ධ වෙන ක්‍රම දෙකක් තියෙනවා. සම්මා සම්බුදු රජාණන් වහන්සේ නමක් හෝ පසේ බුදු රජාණන් වහන්සේ නමක් වුනොත් විතරයි එහෙම වෙන්නෙ. ඒ ඇරෙන්න අනෙක් සියලු දෙනාම මේ ධර්මය දැනගන්නෙ කල්‍යාණ මිත්‍රයෙක්ගෙන්ම තමයි.

**ශ්‍රාවක :** එහෙනම් ඔය පොත් කියවන එකයි, සී. ඩී. තැටිවලින් බණ අහන එකයි වැඩක් නැද්ද ?

**දේශක:** නෑ, එහෙම හිතන්න අවශ්‍ය නෑ. ඒවා ප්‍රයෝජනවත් වෙනවා. ඔබට දහම් දැනුම ලබාගන්න, අනුමාන ඥානය ලබා ගන්න ඒවා බොහොම වැදගත්. අනුමාන ඥානය තියෙන අයට ධර්මය වටහාගන්න ලේසියි. ලෝකය ඔබේ කැමැත්ත ඉෂ්ට කරන්නෙ නෑ කියල තේරුම් ගන්න, ඒ කියන්නෙ දැනට ඔබ නිච්චයි සුඛයි අත්තයි කියල හිතාගෙන ඉන්න මේ ලෝකෙ ඇත්තටම අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල වටහාගන්න තමයි කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් බණ අහන්නම අවශ්‍ය වෙන්නෙ.

**ශ්‍රාවක :** ඈයි අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල කියන්නෙ. ඕක නම් මම අහල තියෙන්නෙ වෙන විදිහකටනෙ.

**දේශක :** පාලි පදවලින් අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල පෙන්වන කාරණය අපි ☞

හැමෝම දන්නෙ අනිත්‍යයි, දුක්ඛයි, අනාත්මයි කියල. හැබැයි ඒක සිංහල නෙවෙයි, සංස්කෘත භාෂාවෙන් තමයි එහෙම කියන්නෙ.

**ශ්‍රාවක :** අනිත්‍යයි කියන්නෙ සංස්කෘත භාෂාවෙන්ද ? මම මෙච්චර කල් හිතාගෙන හිටියෙ සිංහලෙන් එහෙම කියනව කියල.

**දේශක :** ඔව් ඉතිං සිංහල භාෂාවටත් ඒ වචන ඇවිත් තියෙනව තමයි. නමුත් ඒවා සංස්කෘත භාෂාවෙ වචන. ඒ නිසා ඒවායේ නියම අර්ථය අපිට වැටහෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** ඒ කොහොමද එහෙම කියන්නෙ ? අනිත්‍ය කියන්නෙ ස්ථිර නෑ කියන එකනෙ. ඉතිං ඕනම කෙනෙකුට හොඳට අර්ථය වටහා ගන්න පුළුවන්නෙ.

**දේශක :** ඔව්, ඒ වුනාට බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, යමක් අනිච්ච නම් ඒකට තියෙන කැමැත්ත අයින් කරගන්න කියල. (<u>කොට්ඨිත අනිච්ච සූත්‍රය</u> - සංයුක්ත නිකාය - 4, 287 පිටුව) දැන් ඔබට පුළුවන්ද, යමක් ස්ථිර නෑ කියල දැනගත්තම ඒකට තියෙන කැමැත්ත අඩු කර ගන්න.

**ශ්‍රාවක :** ඔව්. යමක් ස්ථිර නැත්නම්, විනාස වෙලා යනවනම්, ඒකට කැමැත්තක් තියාගෙන ඉඳල වැඩක් වෙන්නෙ නැනෙ. ඒ නිසා මට කැමැත්ත අයින් කරගන්න පුළුවන් වෙයි.

**දේශක :** ඔබේ අතේ තියෙන දුරකතනය, ඔබේ වාහනය, ඔබේ අම්ම තාත්ත, ඔබේ ගේ දොර ආදී දේවල් ස්ථිර ඒවද ?

**ශ්‍රාවක :** නෑ. ඒවා ස්ථිර ඒවා නෙවෙයි. ඒව ඉතිං විනාස වෙලා යනවනෙ. මේ මම පාවිච්චි කරන තුන්වෙනි දුරකතනය. කලින් ඒවා කැඩිල අයින් කළා.

**දේශක :** මේ සියල්ල ස්ථිර නෑ කියල ඔබ හොඳින් දන්නවනෙ. ඉතිං ඒවට තියෙන කැමැත්ත දැන් ඔබ නැති කරලද ඔය ඉන්නෙ ?

**ශ්‍රාවක :** එහෙම ඉතින් ස්ථිර නෑ කියල අම්ම තාත්තට තියෙන කැමැත්ත අයින් කරන්න පුළුවන්ද ? දුරකතනයත් එහෙමයි. කලින් එක කැඩුන කියල ප්‍රශ්නයක් නෑ, මේකට මම වැඩිය කැමතියි.

**දේශක :** දැන් ඉතින් කලින් ඔබ කිව්වනෙ, ස්ථිර නෑ කියල දැනගත්තම ඒවට තියෙන කැමැත්ත අඩු කරගන්න පුළුවන් වෙයි කියල. හැබැයි ඒ වුනාට දැන් මට පේන්නෙ, ස්ථිර නැති මේ දුරකතනයට තියෙන ඔබේ කැමැත්ත නම් වැඩි වෙලා වගේ.

**ශ්‍රාවක :** සමාවෙන්න. දැන් තමයි මට තේරුම් ගියේ, ඕවා ස්ථිර නෑ කියල දැන ගත්තට වැඩක් වෙන්නෙ නෑ කියල.

**දේශක :** ඇත්ත. ඒ නිසා තමයි මම ඔබට කිව්වෙ සංස්කෘත භාෂාවෙ වචනවල අර්ථය අපට නිවැරදිව වැටහෙන්නෙ නෑ කියල.

**ශ්‍රාවක :** අපි මේ ලෝකෙට තියෙන කැමැත්ත අඩු කරගන්න නම්, එහෙමත් නැත්නම් කැමැත්ත සම්පූර්ණයෙන් අයින් කරගන්න නම්, ලෝකය අනිච්ච විදිහට දකින්න කියල කියපු දහමේ නිවැරදි අර්ථය, ඒ වගේම අපිට තේරෙන අර්ථය මොකක්ද කියල, ඒ වගේම මේකත් මම වැරදියට වටහාගෙන ඉන්න එකක් කියල දැන් මට හොඳටම තේරුනා.

**දේශක :** ඔබ අර කාලාම සූත්‍ර දේශනාවට අනුව කටයුතු කළා නම් මේ වරද සිද්ධ වෙන්නෙ නෑ. මේ ප්‍රශ්නය පහසුවෙන් විසඳගන්න පුළුවන්. ත්‍රිපිටකයේ තියෙන සූත්‍රවල පැහැදිලිව සිංහල අර්ථය තියෙනවා. එයින් කිහිපයක් ඔබටත් පෙන්වල දෙන්නම්.

අනිච්ච යන්නට සිංහල අර්ථය විදිහට - අනිස (කොට්ඨිත අනිච්ච සූත්‍රය - සංයුක්ත නිකාය - 4, 287 පිටුව)

අනිච්ච යන්නට සිංහල අර්ථය විදිහට - පෙළන දෙයක්, ලැජ්ජා විය යුතු දෙයක්, පිළිකුල් කළ යුතු දෙයක් (<u>ගිරිමානන්ද සූත්‍රය</u> - අංගුත්තර නිකාය 6, 194 පිටුව)

අනිච්ච යන්නට සිංහල අර්ථය විදිහට - අනිච්ච යන වචනයම (අනිච්ච සූත්‍රය - සංයුක්ත නිකාය 4, 409 පිටුව) විග්‍රහ කරල තියෙනවා.

අනත්ත යන්නට "යමක් අනත්ත නම් එහිලා තොපගේ ඡන්දය පහ කළ යුතුය" කියල අනත්ත සූත්‍රයේ විග්‍රහ කරල තියෙනවා. (සංයුක්ත නිකාය 4, 110 පිටුව) ඊළඟට අනත්ත යන්නට - අසාර අර්ථයත් විස්තර කරල තියෙනවා. (පටිසම්භිදා මග්ගප්පකරණය, 68 පිටුව) ඒ වගේම අනත්ත - අනර්ථ කියලත් විග්‍රහ කරල තියෙනවා. (<u>අජිත සූත්‍රය</u> - අංගුත්තර නිකාය 6, 417 පිටුව)

**ශ්‍රාවක :** අනිච්ච කියන වචනයටයි, අනත්ත කියන වචනයටයි නියම සිංහල අර්ථ තියෙන තැන් ගොඩක් ත්‍රිපිටකයේ තියෙනවනේ. එතකොට ඔය අනිත්‍යයි, අනාත්මයි කියල තේරුමක් දීල තියෙන්නෙ කොහොමද ?

**දේශක :** ඒකත් ත්‍රිපිටකයේම තමයි තියෙන්නෙ. ත්‍රිපිටකය සිංහලට පරිවර්තනය කරද්දි ඒ සඳහා සුවිශේෂී දැනුමක් සහිත පැවිදි උතුමන් වහන්සේලා සහ ගිහි පිංවතුන් කණ්ඩායමක් හිටියා. ඒ අය කොටස් වශයෙන් ඔය පරිවර්තනය කරල තියෙන්නෙ. සමහර භික්ෂුන් වහන්සේලා සංස්කෘත තේරුම ලියල තියෙනවා. සමහර භික්ෂුන් වහන්සේලා සිංහල තේරුම ලියල තියෙනවා. දන්න සිංහල පැත්තකින් තියල නොදන්න සංස්කෘත ගත්ත එක තමයි වරද.

**ශ්‍රාවක :** අනිච්ච කියල සිංහල වචනයකුත් තිබුනා. ඔය කියන්නෙ අර ඉස්සර අපේ ආච්චිල සීයල අනේ අනිච්ඡං කියල කියපු එකද ?

**දේශක :** ඔව් ඒක තමයි. ඒ වගේම "අනිච්චං දුක්ඛං සංසාරේ" කියල ව්‍යවහාරයේ එන කියමනකුත් තියෙනවා. හැබැයි දැන් ඒක එච්චර භාවිතා වෙන්නෙ නැති නිසා හුගක් අය තේරුම දන්නෙ නෑ. නමුත් උසස් පෙළ ජීව විද්‍යාව පොතේ ඒකෙ තේරුම තියෙනවා. ඉච්ඡානුග පේෂි සහ අනිච්ඡානුග පේෂි කියල අපේ ශරීරයේ තියෙන පේෂි වර්ග දෙකක් ගැන එතනදි උගන්වනවා. අනිච්ඡානුග පේෂි කියන්නෙ අපේ කැමැත්තට අනුව වැඩ කරන්නෙ නැති පේෂිවලට.

**ශ්‍රාවක :** ඒකනේ අපේ ආච්චිල සීයල ඒ අය කියන විදිහට වැඩ නොකර හිතුවක්කාර වැඩ කරන කොට " අනේ අනිච්චං" කියල කියන්නෙ. දැනුයි මට තේරුනේ, අනිච්ච කියල කියන්නෙ අපේ කැමැත්තට ☞

අනුව පවතින්නෙ නෑ කියන අර්ථයෙන් බව.

**දේශක :** දැන් මට උත්තර දෙන්න බලන්න, ඔබට කැමැත්තක් අයින් කරන්න ලේසියෙන්ම පුළුවන් වෙන්නෙ ඔබේ කැමැත්තට නැති දෙයක් සම්බන්ධයෙන්ද, නැත්නම් ස්ථිර නැති දෙයක් සම්බන්ධයෙන්ද ?

**ශ්‍රාවක :** දැනුයි මට තේරුනේ, අපේ කැමැත්තට අනුව පවතින්නෙ නැති දෙයකට කැමැත්තක් තියාගෙන ඉන්නව නම් ඒක මහ මෝඩකමක්නෙ. කැමැත්තට අනුව පවතින්නෙ නෑ කියල දැනගත්ත ගමන් නිකම්ම කැමැත්ත අඩුවෙලා යයි.

**දේශක :** බොහොම හොඳයි. අපි දැන් බලමු, ඔබ මේ ලෝකෙ මොනවටද කැමති කියල.

**ශ්‍රාවක :** ඒක නම් අද කියල ඉවර කරන්න බැරි වෙයි. මම ගොඩක් දේවල්වලට කැමතියිනේ.

**දේශක :** ඒ කාරණය නිසා තමයි අපේ බුදු රජාණන් වහන්සේ, මුළු ලෝකයම කොටස් 6කට බෙදල තියෙන්නෙ. ඔබට බලන්න තියෙන්නෙ ඒ 6 ගැන විතරයි.

**ශ්‍රාවක :** ඔය කියන්නෙ අපේ ඉන්ද්‍රිය 6 යි, ඒවාට ගෝචර වන ලෝකයේ පවතින බාහිර රූප 6 යි ගැන නේද ?

**දේශක :** දැන් වැටහෙනව නේද ? අපි රූප බලන්න කැමතියි, ශබ්ද අහන්න කැමතියි... ඔය වගේ කැමති 6 ක් තියෙනවා. අපි කලින් සාකච්ඡාවෙදි විස්තර කරපු විඤ්ඤාණයෙන් ලෝකය පිළිබඳ දැනගැනීම ගැනයි, ප්‍රඥාවෙන් ලෝකය ගැන දැනගැනීම ගැනයි දැන් නැවතත් මතක් කරගන්න ඕන. එතැනදි පාලි භාෂාවෙ තියෙන විජානාති සහ පජානාති කියල වචන දෙකක් භාවිතා කළා. ඒ දහම් කරුණු දැන් ඔබට මතකද ?

**දේශක :** ඔව් ඔව්, මම දන්නවා විජානාති කියල කිව්වෙ බොරුවක් ඇත්ත වගේ දකින එකටනේ. පජානාති කිව්වෙ එහෙම බොරුවකට මුලා නොවී ඇත්ත දකින එකට.

**දේශක :** හරියට හරි. දැන් ඔය විදිහට ඇහැට පේන ඔබ කැමති රූපයක් අරගෙන බැලුවොත්, ඔබ ඒ රූපයට කැමති වෙලා තියෙන්නෙ ඒ රූපයේ තියෙන යම් හොඳක් දැකල නෙවෙයි. ඔබ කැමති දේවල් ඔබට හොඳ හැටියට පෙන්වන්නෙ විඤ්ඤාණ මායාවෙන්. ඒ විඤ්ඤාණ මායාවට අහුවෙලා තමයි ඒ රූපයට ඔබ කැමති වෙලා තියෙන්නෙ. ඔබ ඒ විදිහට රූප ඇසුරු කරන එක විජානාතිද, පජානාතිද ?

**ශ්‍රාවක :** රූපවල මුකුත් ඇත්තෙ නැනෙ. මම මගේ මනසින් කැමැත්තක් හදාගෙන ඒකෙ ඇලිල ඉන්නෙ, විජානාති විදිහට රූප ඇසුරු කරන්න ගිහින් තමයි.

**දේශක :** හරි ඔබ දැන් දන්නවා. එහෙනම් මොන රූපයකට වුනත් කැමැත්තක් හදාගෙන ඇලෙන එකේ තේරුමක් තියෙනවද නැත්ද ?

**ශ්‍රාවක :** නෑ, කිසිම හරයක් නැති වැඩක්. මොකද ඔය රූපවල මුකුත් ඇත්තෙත් නෑ. ඒ මදිවට එහෙම කැමැත්තක් හදාගත්තොත් මම ලෝභ වෙන්නත් පුළුවන්, ද්වේශ වෙන්නත් පුළුවන්. ඒ දෙකෙන්ම මට වෙන්නෙ මහ විනාසයක්.

**දේශක :** ඔන්න ඔය විදිහට හිතල තීරණ ගන්න එකට තමයි විදර්ශනා කරනව කියල කියන්නෙ. දැන් ඔබට ඔය රූපවලට තියෙන කැමැත්ත අඩු කරගන්න පුළුවන් නේද ?

**ශ්‍රාවක :** ඔව් පුළුවන්. හැබැයි මට ඕක නිතරම මතක හිටින්නෙ නැනෙ. සමහර වෙලාවට මම රූපවලට අහුවෙනවා.

**දේශක :** ඒකට කමක් නෑ. ඔබ මේ දහම හොඳින් වටහාගෙන නම් ඉන්නෙ, කාලයක් ගත වෙන කොට රූපවලට අහුවෙන එක අඩු වෙලා යයි. හැබැයි ඉතිං ඔය විදර්ශනාව නම් දිගටම කරන්න ඕන.

**ශ්‍රාවක :** ඔව් මට දැන් හොඳට වැටහිලා තියෙන්නෙ. ඔය කැමැත්ත අඩු කරගන්න නම් මට කරන්න තියෙන්නෙ, කැමැත්තක් ඇතිවෙච්ච වෙලාවට ඒ බව අඳුනගෙන මේ ආදීනව මෙනෙහි කරල කැමැත්ත අත්හැරල දාන එකනෙ.

**දේශක :** හරියටම හරි. දහම් අවබෝධ වුන කවුරුත් කරන්නෙ ඒ ටිකම තමයි. මුලින්ම හොඳ සිහියෙන් ඉන්න ඕන, තමන් ඇලෙනවද ගැටෙනවද කියල අඳුන ගන්න. හැබැයි ඔය සිහිය පවත්ව ගන්න බැරි වුන වෙලාවට අපිව ලෝකෙට අහුවෙනවා. ඒ අඳුන ගත්ත වෙලාවට පුළුවන්, ඒකෙ කිසිම හරයක් නැති බව වටහගෙන විදර්ශනා කරල ඇලීමෙනුයි ගැටීමෙනුයි මිදෙන්න. ඒ ක්‍රමයට තමයි කැමැත්ත අඩුකර ගන්නෙ.

**ශ්‍රාවක :** එතකොට චතුරාර්ය සත්‍යයේ අංග 4 ම හරි නේද ? මේ විදිහට රූප ඇසුරු කරමින් හිටියොත් මාව මේ ලෝකෙ දුකකට, එහෙමත් නැත්නම් පහත් තත්ත්වයකට ඇද වැටෙන බව මම දන්නවා. එහෙම වෙන්නෙ මේ ලෝකෙට මගේ තියෙන කැමැත්ත නිසා බවත් මම දන්නවා. කැමැත්ත සම්පූර්ණයෙන්ම නැති කරගත්තොත් මට මේකෙන් බේරෙන්න පුළුවන් බවත් මම දන්නවා. ඒ විතරක් නෙවෙයි, කැමැත්ත අඩු කරගන්න ක්‍රමයත් මම දැන් දන්නවා. ඔය රූපවලින් මගේ කැමැත්ත ඉෂ්ට නොකෙරෙන බව මම දැන් දන්න නිසා, ඒ වගේම ඒවා ඇසුරු කරල මට ගත යුතු කිසිම හරයක් නැති බවත් දන්න නිසා, අර විඤ්ඤාණ මායාවට අහුවෙලා හදාගත්ත කැමැත්ත අඩු කරගන්න වැඩපිළිවෙලේ මට දිගටම ඉන්න පුළුවන් වෙනවා.

**දේශක :** හරියටම හරි. ඔබ දැන් මේ ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල තමයි වටහගෙන ඉන්නෙ. ඔබ මීට කලින් හිටියෙ එහෙම නෙවෙයි. ඔබ හිතුවෙ ලෝකය ඔබේ කැමැත්ත ඉෂ්ට කරනව කියල. දැන් කැමැත්ත ඉෂ්ට වුනේ නැතත් ඉදිරි දවසකදි හරි කැමැත්ත ඉෂ්ට වෙයි කියන බලාපොරොත්තුවක් ඔබට එදා තිබුනා. ඔබ හිතුවෙ නෑ, මේ ලෝකය පස්සෙ හඹා යන වැඩපිළිවෙල කිසිම හරයක් නැති බව. ඔබ හිතුවෙ ඒවා හරිම සාරයි සැපයි කියල. දැන් සැප නොලැබුනත් ඉදිරියේදි හරි සැප ලබාගන්න ඔබ නිතරම වැඩ කළා. මොකද ඔබ ලෝකය නිච්චයි, සුඛයි, අත්තයි කියල හිතාගෙන හිටිය නිසා. නමුත් ඔබ දැන් දන්නවා, මේ ඇලෙන ගැටෙන වැඩපිළිවෙලින් අනාත වෙන බව. ඒ කියන්නෙ ඔබ මේ ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියලත් හොඳින් දන්නවා. ඒ නිසා ඔබ මේ ලෝකය පසුපස හඹා යන වැඩපිළිවෙලින් මිදෙන්නත් උත්සාහ කරනවා. ඒ නිසා තමයි ඔබ ඇලෙන ගැටෙන

අවස්ථාවන් අඳුනගෙන ඒවායින් බේරෙන්න උත්සාහ කරන්නෙ. ඔන්න ඔය වැඩපිළිවෙල කරගෙන ඉන්න එකට තමයි ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ ඉන්නව කියලත් කියන්නෙ.

**ශ්‍රාවක :** ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව ඉන්නව කියන එකට ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ ඉන්නව කියන්නෙ කොහොමද ? මට ඒක හොඳට පැහැදිලි කරල දෙන්න.

**දේශක :** ඒ විග්‍රහය තියෙන්නෙ මහා සළායතනික සූත්‍රයේ. (මජ්ජිම නිකාය - 3, 597 පිටුව) ඒකෙන් විග්‍රහ කරන්නෙ මෙහෙමයි.

ඔබ මේ ඉන්ද්‍රියන් ගැනයි, ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ... ආදිය ගැනයි, ඒවායින් හඳාගත්ත විඤ්ඤාණ ගැනයි, අවසානයෙදි ඔබට ඒවා ඇසුරෙන් ලැබෙන දුක් හෝ සැප හෝ අදුක්ඛම සුඛ (මධ්‍යස්ථ) වේදනා ගැනයි ඇත්ත දන්නව නම්, ඒ කියන්නෙ පජානාති විදිහට දැක්ක නම්, ඊට පස්සෙ ඒවායේ නොඇලී ඉන්න කළ යුතු දේ කරනවා. එහෙම කරන නිසා තමයි ඔබ සිහියෙන් ඉඳල ඇලෙන ගැටෙන තැන් අඳුනගෙන ඒවායින් බේරෙන්න උත්සාහ කරන්නෙ.

මෙන්න මේ විදිහට උත්සාහ කරමින් ඉන්න අය මේ ලෝකය සම්බන්ධයෙන් හිතන ආකාරයට තමයි සම්මා දිට්ඨිය කියන්නෙ. ඒවායින් මිදෙන්න කරන කල්පනාවට තමයි සම්මා සංකප්ප කියන්නෙ. මිදෙන්න දරන උත්සාහයට තමයි සම්මා වායාම කියන්නෙ. ඇලෙනවද, ගැටෙනවද කියල බලන සිහියෙන් ඉන්න එකට තමයි සම්මා සති කියන්නෙ. ඒ විදිහට ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව ඉන්නකොට ඒකෙ ප්‍රතිඵලයක් විදිහට සම්මා සමාධිය ලැබෙනවා. සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන මේ අංගත් මේ විදිහට ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව ඉන්න උත්සාහ කරන කෙනෙක් ළඟ වැඩෙනවා. ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දැක්කට පස්සෙ, ඒ කල්පනා කරන ආකාරයට ඒ පුද්ගලයා නොදැනුවත්වම ඉන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ තමයි. දැන් වැටහුනාද ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කරල මේ ලෝකෙන් මිදෙන හැටි ?

**ශ්‍රාවක :** උත්සාහයෙන් වීර්යෙන් කලේ මේ ලෝකය ඇසුරු කරන අවස්ථාවෙදි ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව ඉන්න එක විතරයි. නමුත් දන්නෙම නැතිව වැටිල ඉන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගයටම තමයි. අද තමයි හොඳින් වටහ ගත්තෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කරන හැටි. හැබැයි ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දකින්නෙ නැතිව මේක කරන්න පුළුවන්කමක් නෑ. මේ සාකච්ඡාව කොච්චර වැදගත් සාකච්ඡාවක්ද කියල දැනුයි මට තේරෙන්නෙ. මම කොහොම හරි මගේ යාලුවොත් මේ වගේ සාකච්ඡාවකට එක්කගෙන එන්නම ඕන. මේක දැනගෙන මම නිකං හිටියොත් මම ලොකු වැරදිකාරයෙක් කියලයි දැන් නම් මට හිතෙන්නෙ.

**දේශක :** ඔබ හරි. මේ දහම හරියටම දැනගත්තු හැමෝටම ඔහොම තමයි හිතෙන්නෙ. කොච්චර අමාරු වුනත් උත්සාහය අත්හරින්න එපා. ඔබ යහලුවෙකුට දහම් සාකච්ඡාවකට එන්න කියල කිව්වම, ඔහු ඒකට සහභාගි වෙන්න නොහැකි වීම සම්බන්ධයෙන් හේතු ගොඩක් කියයි. මේ දහම අහන එක දෙවෙනි කරල අපේ මිනිස්සු කරන කියන දේ දැක්කම කොච්චර මෝඩද කියලත් හිතෙයි. එක්කෙනෙකුට දෙන්නෙකුට කිව්වට පස්සෙ ඒ අය එන්න උත්සාහ කරන්නෙ නෑ කියල දැනුනම, මේ අයට කියල වැඩක් නෑ, මේ අය වටහාගන්නෙ නෑ කියල ඔබට අදහසක් එයි. හැබැයි ඒ වුනත් ඔබ වටහාගන්න ඕන දෙයක් තියෙනවා. ඒ සියලුම කතා ඒ අය කියන්නෙ නොදන්නකම නිසා බව. ඒ නිසා දයානුකම්පාවෙන් මේ සත්‍යය ඒ අයට පෙන්වා දෙන්න අඛණ්ඩව උත්සාහ කරන්න. ඔබට තෙරුවන් සරණයි.


සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන - 071 2736623**

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව..... 3







ඇස, කන, නාසය, දිව, ශරීරය කියන පංචේන්ද්‍රියන්ට එහා ගිය ලෝකයක් ගැනත්, ඒවාට ගරහන්නෙ නැතිව යහපත උදා කරගන්න විදිහත් පසුගිය කලාපවලින් යම් ප්‍රමාණයකට විග්‍රහ කළා. විශේෂයෙන් ගති ආකර්ශනය සහ ගති රුව, ගති හඬ, ගති ගුණ ගැනත් සඳහන් කළා. මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ ඒ ගති ආකර්ශනය පැරැන්නන් ප්‍රයෝජනට ගෙන ඇති ආකාරය තව දුරටත් විග්‍රහ කරන්න.

භෞතිකවාදීන් කියල හඳුන්වන පිරිස් පැරැන්නන් භාවිතා කළ ක්‍රමවේදවලට ගැරහීම සාමාන්‍ය දෙයක්. "මේ නක්ෂත්‍රකාරයින් කේන්දර වගේ බොරු දේවල් බලල ඒවායේ දෝස, අපල තියෙනව කියල කියනවා. ඒවායින් බේරෙන්න පුද පූජා, දානමාන දීම්වලට අමතරව මැණික් ගල් වගේ වටිනා පාෂාණ පළඳින්න කියලත් කියනවා. නමුත් ඒවායින් මුකුත් සිද්ධ වෙන්නෙ නෑ. අපේ මෝඩ මිනිස්සුත් ඔවුන් මොකක් හරි කිව්වම ඒක පිළි අරගෙන කීයක් වියදම් වුනත් ඒවා අරගෙන පළඳිනවා. භෞතික වස්තු වන්දනාමාන කරනවා. ඉතින් මේවට ගොඩක් වියදම් වෙනවා. නක්ෂත්‍රකරුවන් මිනිස්සු රවට්ටල හොඳ වෙළඳාමක් කරගෙන ඔවුන් පොහොසත් වෙනවා. මෝඩ ජනතාව දුක්පත් වෙනවා. ඔය අපල කියල කියන්නෙ ඔවුන්ට අහුවෙලා ඒවට රැවටිලා විසාල මුදලක් අහිමි කර ගැනීමම තමයි. ඔය ගල් පැළඳුවයි කියල විශේෂයෙන් මුකුත් ලැබෙන්නෙ නෑ."

මේ තමයි භෞතිකවාදීන් ඔවුන්ගෙ මතවාද ඉදිරිපත් කරනකොට කියන කතාව. ඔවුන්ට තියෙන්නෙ ජනතාව පිළිබඳ අමුතුම දයානුකම්පාවක්. ඒ නිසා තමයි ඔවුන් හැම අවස්ථාවකදිම මේ වගේ දේවල් කියන්නෙ. හැබැයි මේ අය, ජාන වෙනස් කළ ආහාර ගැන, කෘමිනාශක භාවිතය නිසා ඇතිවන රෝග ගැන, කෘතීම වර්ණ කාරක, රසකාරක කෑමට එකතු කිරීම නිසා ඇතිවන හානිය ගැන, රැහැන් රහිත විද්‍යුත් උපකරණ භාවිතය තුලින් සමාජයට වන අයහපත ගැන වචනයක්වත් කතා කරන්නෙ නෑ. ඒවා විකුණල බහු ජාතික සමාගම් හම්බ කරගෙන පිට රටට ඇදිල යන විසාල ධනස්කන්ධය ගැන කිසිම අදහසක් ප්‍රකාශ කරන්නෙ නෑ.

වස විස ගැන, ජාන වෙනස් කළ ආහාර ගැන, වර්ණ කාරක, රසකාරක එකතු කළ ආහාර ගැන මේ ලිපියෙන් කතා කරන්නෙ නෑ. මොකද ඒ පිළිබඳ ඉතා සවිස්තරාත්මක ලිපි මාලාවක් මේ සඟරාවෙ වෙනම පළ කෙරෙනවා.

දැන් අර මැණික් ගල් පැළඳීම ගැන කියන කාරණාව දෙසට යොමු වෙලා ඒකෙන් සිද්ධ වෙන දේ නූතන විද්‍යා ඇසින් විග්‍රහ කරන්නෙ කොහොමද කියල බලමු.

අද වෙනකොට නූතන විද්‍යාවෙන් විශේෂ කැමරා දෙකක් හදල තියෙනවා. ඒවාට කිර්ලියන් (Kirlian) කැමරාව සහ ඕරා (Aura) කැමරාව කියල කියනවා. කිර්ලියන් කැමරාවෙන් මනුස්සයින් ඇතුළු සත්ත්වයින්ගෙ සහ ද්‍රව්‍ය වස්තුවල තියෙන රැස් මඬල හෙවත් ඕරා වළල්ල යම් කිසි මට්ටමකින් හසු කරගන්න පුළුවන්. ඕරා කැමරාව මගින් මනුස්සයින් ඇතුළු සත්ත්ව ශරීරවල තියෙන රැස් මඬල යම් කිසි මට්ටමකින් හසු කරගන්න පුළුවන්. මොකද ඒ කැමරාව භාවිතා කරනකොට අදාළ පුද්ගලයගෙ / සත්ත්වයාගෙ අත සංවේදකයට තියල ඒ හරහා තමයි රැස් වළල්ල හසු කරගන්නෙ. කිර්ලියන් ඡායාරූපකරණයේම වැඩි දියුණු කරපු අවස්ථාවක් තමයි ඕරා කැමරාව. ඒකෙ තියෙන විශේෂත්වය තමයි තමන් සිතන පතන ආකාරයට, ඒ කියන්නෙ චේතනාව අනුව පටිච්ච සමුප්පන්නව තමන්ගෙ රැස් මඬලේ හෙවත් ඕරා වළල්ලේ පාට වෙනස් වීම සටහන් වීම. (Aura Imaging Presentation - www.youtube.com/watch?v=8911huq8gNA)

මෙහිදී ඔවුන් කියන්නෙ, තමන්ගෙ රැස් මඬලේ තියෙන දුර්වලතා මග හරවා ගැනීම සඳහාත්, රැස් මඬල වෙනස් කිරීම සඳහාත් ප්‍රතිකාර කළ යුතු බව. ඒ සඳහා වර්ණ සත්කාර හෙවත් colour therapy treatment හෝ විවිධ පාෂාණ වර්ග පැළඳීම හෝ කළ යුතු බවත් ඔවුන් පවසනවා. ඒ පාෂාණ පළඳල නැවත රැස් මඬල පරීක්ෂා කරනකොට පේන්නෙ, තමන්ගෙ රැස් මඬල හෙවත් ඕරා වළල්ලේ පාට වෙනස් වෙලා තියෙන බව. ඒකෙන් ලෙඩ රෝග අඩුවීම, මානසික සුවය ඇතිවීම වගේ තවත් බොහෝ දේ සිද්ධ වෙනවා. මේ වර්ණ සත්කාර ක්‍රමවේදයත් අද වෙනකොට දියුණු රටවල බහුලව භාවිතා කරනවා. ඒක බොහොම විද්‍යාත්මක ක්‍රමවේදයක්.

ඊළඟට සුවඳ සත්කාර ක්‍රමය (Aroma Therapy) කියල තවත් ප්‍රතිකාර ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ ස්වභාවික මල් සුවඳ වගේ දේවල් ආඝ්‍රහණය කරන්න සලස්වල ලෙඩ රෝග දුරු කරන ක්‍රමවේදයක්. එදා ජීවක වෙද මහත්තයත් ලොව්තුරා බුදුන් වහන්සේට යම් කිසි ඖෂධ පුරවපු නෙළුම් මලක් වාර ගණනක් ආඝ්‍රහණය කරන්න සලස්වල බඩ විරේකයක් කළ බවට සාක්ෂි ධර්මයේ සඳහන් වෙනවා. එදා තරම් ගැඹුරට නැතත් ඒවා අදටත් ☞

ලෝකයේ පාවිච්චි වෙනවා. එතනදිත් මූල ධර්මය විදිහට ප්‍රධාන වශයෙන් එන්නෙ ගති ආකර්ශනය. **මලකින් එන සුවඳක් වුනත් හැදිල තියෙන්නෙ මනුස්සයින්ගෙ කලින් තිබ්බ්ච අලෝභ, අද්වේශ, අමෝහ ගති පිටවෙලා ගිහින් ඊට අදාළ ශක්තිවලින්.** මේ කියන ප්‍රතිකාර ක්‍රමයෙනුත් ඒ ශක්තිය තමයි නැවත ඇදල අරගෙන ශරීරයේ තියෙන අපද්‍රව්‍ය ඉවත් කරන්න යොදා ගන්නෙ. හැබැයි එතනදිත් තමන් ළග සමනන්තරය හදාගෙන තිබුනොත් තමයි ඒ ප්‍රතිකාරය හරියටම ප්‍රත්‍ය වෙන්නෙ. ඒ නිසා තමයි එදා හිටපු අපේ වෙද මහත්වරු ලෙඩෙක් ආවම, ඒ පුද්ගලයගෙ මානසිකත්වය හදන්න ආගිය තොරතුරු කතාබහ කරල ඉස්සෙල්ලම යම් කිසි මානසික චිකිත්සාවක් දෙන්නෙ. ඒ විදිහට මානසිකත්වය හදල ඒ සඳහා උපදෙස් දීල තමයි මැණික් ගලක්, යන්ත්‍රයක් වුනත් පළඳින්න දුන්නෙ, බේතක් හේතක් දුන්නෙ.

වේදය දන්න මහත්තය තමයි වෙද මහත්තය කිව්වෙ. ඒ කියන්නෙ චතුර්වේදය. වේදය කියන්නෙ විද්‍යාව. මෝහන විද්‍යාව, යන්ත්‍ර මන්ත්‍ර විද්‍යාව, නාඩි වෙදකම, ළය විරේකය, බඩ විරේකය, මොළ විරේකය, ඇස් විරේකය... ආදී මේ සියල්ලම ඒකට අයිතියි. එදා හිටපු වෙද මහත්වරු ඒ වේදයට අයිති දේවල් දැනගෙන හිටියා. හැබැයි වේදය කියල කිව්වට ඒවටත් පසුකාලීනව බුදු දහමෙන් කොටස් සම්බන්ධ වෙලා තියෙනවා. ඒ කියන්නෙ කාලයක් යද්දි බුදු දහමෙන් නිවන් දකින කොටස් යටපත් වෙලා ලෞකික කොටස් බවට පරිවර්තනය කරල ඒවත් ඔය වේද ග්‍රන්ථවලට ඇතුලත් කරල තියෙනවා. ඊට අමතරව විශේෂයෙන් කලින් කල පාරමිතා පුරන මහ බෝසත්වරු තමයි මහ ඍෂිවරු වෙන්නෙ. ඒ මහ ඍෂිවරු මතු කරල දුන්න ලෞකික විද්‍යාවක් තමයි මේ වේද ග්‍රන්ථවල තියෙන්නෙ. ඒවායින් යම් කිසි කෙනෙක්ගෙ මානසිකත්වය, යන එන විදිහ, ඇවිදින, කතාබහ කරන විදිහ, දේහ ලක්ෂණ විද්‍යාව, කාල හෝරා චක්‍ර ආදී මේ සියල්ලම අරගෙනයි බේත් හේත් කරන්නෙ. යම් කිසි කෙනෙක් ප්‍රතිකාර ගන්න එනකොට ඒ සාස්ත්‍රවලින් අවශ්‍ය දත්ත සියල්ලම හොයා ගන්නවා. එහෙම හොයාගෙන තමයි ඒකට සුදුසු ප්‍රතිකාරය දෙන්නෙ. ඒ කියන්නෙ හේතුඵල දැනගෙන තමයි එදා ප්‍රතිකාර කළේ. නමුත් දැන් ඉන්න අය ඒ මට්ටමට දන්නෙ නෑ.

දැන් විශේෂයෙන් බටහිර බෙහෙත් (ඉංග්‍රීසි බෙහෙත්) සෑහෙන කාලයක් පාවිච්චි කළාම සාමාන්‍යයෙන් හුඟක් අයට බඩ දැවිල්ල වගේ අතුරු ආබාධ එනවා. ඒ නිසා හුඟක් අය ඒ බෙහෙත් පාවිච්චි කරන්නෙ බේත් එක්ක ගැටිල අප්පිරියාවෙන්, අකමැත්තෙන්. හැබැයි බටහිර බේතක් වුනත් එහෙම නොවී පාවිච්චි කරන ක්‍රමයක් තියෙනවා. බෙහෙත පාවිච්චි කරන්න පෙර ඒ බේත ප්‍රතික්ෂේප කරල අකමැත්තෙන් පාවිච්චි කළොත් තමයි ඒ විදිහට ගැටළු එන්නෙ. ඒ නිසා පාවිච්චි කරන්න පෙර, ඒ බේත පිළි අරගෙන ඉන්න ඕන. ඒ කියන්නෙ ආහාර ගන්නකොට වගේ ඒ බේත ප්‍රත්‍යවේක්ෂා කරල පාවිච්චි කරන්න ඕන. **ඒ බේත තමන්ගෙ අතේ තියාගෙන ඒක දිහා බලාගෙන, මේ බෙහෙත දිව ඔසුවක් වී මාගේ ශරීරයේ තියෙන ලෙඩ රෝගවලට පමණක් ප්‍රත්‍ය වේවා කියල අධිෂ්ඨාන කරල ඒ බේත පාවිච්චි කළාම ඒක පිළිගත්ත වෙනවා, ප්‍රත්‍ය වෙනවා.** මෙතනදි ''ලෙඩ රෝගවලට පමණක්'' කියල කියන්නෙ, ඒ බේත වෙනත් ඒවටත් ක්‍රියා කරල අතුරු ආබාධ එන්න පුළුවන් නිසා. පමණක් කියල එල්ල කරලම හිත පිහිටෙව්වම ඒ එල්ල කරපු දේටම ප්‍රත්‍ය වෙනවා. එතකොට අර වගේ ගැටළු එන්නෙ නෑ. ඒක ඕන කෙනෙකුට ප්‍රායෝගිකව කරල බලන්න පුළුවන් දෙයක්.



මේ කාරණය මනෝ විද්‍යාවෙත් උගන්වනවා. එතනදි සිද්ධ වෙන්නෙත්, සමනන්තර අනන්තර ප්‍රත්‍ය ගැලපිලා එන ගති ආකර්ශන මූල ධර්මය. එතකොට ගතියට ගතිය ගැලපිලා ශරීරය විසින් ඒ බෙහෙත් පිළිගන්නවා, ශරීරයට ප්‍රත්‍ය වෙනවා. මානසිකත්වය තමයි එතනදි වැදගත් වෙන්නෙ. එතකොට බෙහෙතෙ තියෙන අනන්තරයත් එක්ක ගැටීමක් නෑ. ගතියට ගතිය ගැලපිලා ප්‍රත්‍ය වෙනවා. ඒ කියන්නෙ අර බෙහෙත් එක්ක තියෙන ද්වේශ විඤ්ඤාණය කඩල බේත පිළිගන්නවා.

ඉතින් අපේ පැරැන්නන් අපල උපද්‍රවවලට කළෙත් අර ඉහතින් සඳහන් කළ නවීන විද්‍යාවෙන් හඳුන්වා දෙන ප්‍රතිකර්ම තමයි. මැණික් ගල්, යන්ත්‍ර, පිරිත් නූල් පැළඳීම කළේ, තමන්ගෙ රැස් මඬල වෙනස් කරගන්න. ඒක වෙනස් වෙන්නෙ, විශ්වයේ තියෙන ශක්තීන් සහ ඒ රන් රිදී මුතු මැණික් ආදියේ තියෙන ශක්තීන් ඒ මූලද්‍රව්‍ය හරහා ආකර්ශනය කර ගැනීමෙන්. ඒකත් ගති ආකර්ශනය මත පදනම් වෙච්ච දෙයක්. ඒ කියන්නෙ විශ්වයේ තියෙන ඒ සුද්ධ කිරණ ශක්ති ඒ මූලද්‍රව්‍යවලට ඇද ගන්නෙ ගති ආකර්ශනයෙන්.

සමනන්තර අනන්තර ප්‍රත්‍යවලට අනුකූලව එන ගති ආකර්ශනය තමයි මෙතනදිත් ක්‍රියාත්මක වෙන්නෙ. මොකද මේ රන්, රිදී, මුතු, මැණික් ආදී ද්‍රව්‍යවලින් ස්වභාවිකවම සුද්ධ කිරණක් විහිදෙනවා. හැබැයි යකඩ වගේ දෙයකින් ඒ ජාතියේ සුද්ධ කිරණක් විහිදෙන්නෙ නෑ. ඒ නිසා තමයි උපන් හැටියෙ දරුවන්ගෙ රන් කිරි කට ගාන්නත් රත්තරන් ගන්නෙ. දරුව නිරෝගී වෙලා අපල උපද්‍රව නැතිවෙන්න කියල තමයි ඒක කරන්නෙ. රත්තරන්වල විශේෂ ශක්තියක් තියෙනවා. එතකොට ඒකෙන් කිරණ විහිදෙනකොට ඒ කිරණ මනුස්ස ශරීරයට ඇදල ගන්න නම්, මනුස්සයා ළඟත් ඊට සමාන ගතියක් හෙවත් සමනන්තරයක් තියෙන්න ඕන. එහෙම නැත්නම් ඒ ශක්තිය හරියට ඇදෙන්නෙ නෑ. ඒ වෙලාවෙදි මනුස්සයගෙ හිත මහා පරිමාණයෙන් දූෂ්‍ය වෙලා තිබුනොත් ඒ කිරණ ශක්තිය හරියට ඇදෙන්නෙ නෑ.

කොටින්ම කියනව නම් මනුස්සයෙක් අධික ද්වේශයෙන් ඉන්න වෙලාවට සමනන්තරය නැති නිසා ඒ සුද්ධ ද්‍රව්‍යවල තියෙන කිරණ ශක්තිය හරියට අදින්නෙ නෑ. ඒ දූෂ්‍ය වීම අර රත්රන්, මැණික්

ගල්වලින් නවත්වන්න බෑ. මොකද ඒ දූෂ්‍ය ශක්තිය ඒ තරම් බලවත්. ඒ නිසා උදේ ඉඳන් රෑ වෙනකල් ද්වේශයෙන් කටයුතු කරන කෙනෙකුට අපල උපද්‍රව නැති කරගන්න රන්, රිදී, මුතු, මැණික් පැළඳෙව්වයි කියල එච්චර වැඩක් වෙන්නෙ නෑ. ඉතා කුඩා ශක්තියක් තමයි එතකොට ඇඳෙන්නෙ. ඒ නිසා මනුස්සයගෙ ගතිය දිගටම නරක විදිහට නම් තියෙන්නෙ බාහිරින් රන්, රිදී, මුතු, මැණික් ආදිය පළඳල ඒ තත්ත්වය පාලනය කරන්න බෑ.

මේ රන්, රිදී, මුතු, මැණික් ආදී ද්‍රව්‍යවලින් පිටවෙන්නෙ සුද්ධ කිරණ. ඒ කියන්නෙ ආභස්සර බ්‍රහ්ම ලෝකයේ පටන් මිනිස්සු හොඳ ගතිගුණවලින් ක්‍රමයෙන් පල්ලම් බහිනකොට ඒ පිටවෙච්ච ගතියට අදාළ ශක්තිවලින් හැදිච්ච බාහිර ද්‍රව්‍ය. එතකොට ඒවායේ අදටත් තියෙන්නෙ ඒ සුද්ධ ශක්තිය. ඒ සුද්ධ කිරණ අපි කරා ඇදල ගන්න නම්, සමනන්තර අනන්තර ප්‍රත්‍යවලට අනුකූලව එන ගති ආකර්ශනය ක්‍රියාත්මක වෙන්න නම්, අපිත් අලෝභ, අද්වේශ, අමෝහ ගති හදා ගන්න ඕන. එහෙම නැත්නම් රන්, රිදී, මුතු, මැණික් පැළඳුවයි කියල ඒවායින් ස්වභාවිකවම විහිදෙන කිරණ ශක්තීන් සුළු ප්‍රමාණයක් හැර ඒ සුද්ධ ශක්තිය 100% ක් ඒ හරහා අදින්න බෑ. තුන්සිය හැටපස් දවසෙම දූෂ්‍ය හිතකින් කටයුතු කරන කෙනෙකුට ඒකෙන් ගන්න පුළුවන් ප්‍රතිඵලය ඉතා අඩු වෙනවා. 100% ක් ප්‍රතිඵල ගන්න නම් අර විදිහට අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කටයුතු කරන්න ඕන. එතකොට තමයි සමාන ගතියට සමාන ගතිය ඇදල එන්නෙ. ඒක ප්‍රයෝග සම්පත්තියක්.

නමුත් භෞතිකවාදීන්, අපේ පැරැන්නන් භාවිතා කළ මේ දේවල් ප්‍රතික්ෂේප කරල නවීන විද්‍යාවෙ සොයා ගැනීමක් වන කිර්ලියන් සහ ඕරා කැමරාව පිළිගන්නවා. මේ කාරණය කොච්චර සාධාරණද? අනික ඕරා කැමරාව තුළින් ඔප්පු වෙන්නෙත් පැරණි ක්‍රමවේද තුළ මේ කියන විද්‍යාව ගැබ් වෙලා තිබිච්ච බව නෙවෙයිද? ලෝකයා යමක් පිළිගන්නෙ බටහිර ජාතීන් හොයා ගත්තොත් විතරද? ධ්‍යානලාභී ඍෂිවරු හේතුඵල සහිතව හොයා ගත්තු ඒවා පිළිගන්නෙ නැත්ද?

තමන්ට වාසි වෙන දේ පමණක් පිළි අරගෙන, සම්පූර්ණ විග්‍රහයක් කරන්නෙ නැතිව ඔවුන් කරන මේ විග්‍රහයන්, නිවැරදි හේතුඵල දකල කරන විග්‍රහයක් නෙවෙයි කියන කාරණය මේ තුළින් තව දුරටත් සනාථ වෙනවා. අනෙක ජ්‍යොතිෂ්‍යඥයින් වගේ අයට, මේ කරුණු නවීන විද්‍යාව සමග ගැලපීමේ ඇති අපොහොසත්කම ප්‍රයෝජනයට ගන්න භෞතිකවාදීන් හෙවත් හේතුවාදීන්, මාධ්‍ය ඉදිරියට ඇවිත් ඔවුන්ව අපහසුතාවයට පත් කරල වීරයන් බවට පත් වෙනවා. ඒක මේ පැරණි සාස්ත්‍ර ක්‍රමවේදවල වරදක් නෙවෙයි. ඒවායේ හරය යටපත් වෙලා ගිහින් නෂ්ඨාවශේෂ විතරක් ඉතිරි වුනාම ඒකෙන් ගන්න පුළුවන් ප්‍රතිඵල අඩු වීමයි සිද්ධ වෙලා තියෙන්නෙ. ඒකෙන් සිද්ධ වෙන්නෙ ඒවායින් ලබා ගන්න පුළුවන් ප්‍රයෝජන අපතෙ ගිහින් කරදර ලෙඩ රෝග වැඩිකර ගැනීම හා පැරණි සාස්ත්‍ර වැළලී යාම. අනෙක් පැත්තෙන් මිනිස්සු මිත්‍යා දෘෂ්ටිගත වෙනවා. මේ උත්සාහය, ඒ සාස්ත්‍ර ක්‍රමවේද වැළලී යාමට ඉඩ නොදී ඒවායේ තියෙන වැදගත්කම, අද වෙනකොට පැහැදිලි කර ගත හැකි නවීන විද්‍යාත්මක ක්‍රමවේද තුළින් තව දුරටත් පැහැදිලි කර ගැනීම සහ සමාජයට වැරදි නිවැරදි පෙන්වා දීල යහපත උදාකර දීම.

දැන් ඉතින් මේ පැරණි ක්‍රමවේද තුළ තිබිච්ච විද්‍යානුකූල බව විස්තර කරන්න පුළුවන් අය නැතිවීම නිසා තමයි භෞතිකවාදීන් මේ ක්‍රමවේදවලට පහර ගහන්නෙ. මොකද යන්ත්‍රයකින්, මැණික් ගලකින්, පිරිතකින් ලෙඩක් හොඳ වෙන්නෙ කොහොමද කියල ඒ ක්‍රමවේදය තෝරල දෙන්න දන්නෙ නෑ. නමුත් මේ වෙනකොට කිර්ලියන් කැමරා, ඕරා කැමරා වගේ දියුණු තාක්ෂණික උපකරණ තියෙන නිසා ඒවායින් කෙරෙන පර්යේෂණ අනුසාරයෙන් උගත් අය ඒ කාරණය පිළිගන්නවා. නමුත් මෑතක් වෙනකල්ම මිනිස්සු මේ තාක්ෂණික ක්‍රමවේද තුළින් නෙවෙයි ඒ පැරණි දේවල් පිළිගත්තෙ. ඒ අය ඒක විස්වාසයෙන් තමයි පිළිගත්තෙ. බුදු දහම, නක්ෂත්‍රය, වාස්තු විද්‍යාව, වෙදකම ආදී මේවා එකට බැඳිච්ච සංස්කෘතියක් ආදියේ පටන් පැවතුනා. අන්න ඒ පැවතෙන සංස්කෘතිය නිසා මිනිස්සු ඒක පිළිගත්තා.

හැබැයි ඊටත් වඩා එහාට ගියොත්, ඉස්සර ඒ සාස්ත්‍රවේද හොයා ගත්තු ඍෂිවරුන්ට නම් ඒ ක්‍රමවේද මුල පටන් අගටම අවබෝධ කරගන්න හැකියාව තිබුනා. ඊළඟට ඒ අයගෙ ගෝලයින්ටත් ඒ හැකියාව තිබුනා. මොකද ඒ අය ධ්‍යාන, සමාධි වඩපු අය. දැන් ඉතින් ධ්‍යානත් නෑ, සමාධිත් නෑ, මුකුත් නෑ. **දැන් ආදියේ තිබිච්ච වටිනා දේ විනාස වෙලා ඊට වඩා වටිනාකමින් අඩු උප ආදිය හෙවත් උපාධිය තමයි ඉස්සරහට ඇවිත් තියෙන්නෙ.** ඒ නිසා කොටසක් පරම්පරාවෙන් එන නිසා පිළිගන්නවා. අනෙක් කොටස තේරෙන්නෙ නැති නිසා ඒවාට පහර ගහනවා. නමුත් දැන් අර කියන ඕරා කැමරා වගේ දියුණු තාක්ෂණික ක්‍රමවේද හරහා, විශේෂයෙන් ක්වොන්ටම් භෞතික විද්‍යාව හරහා, මේක මෙහෙමයි සිද්ධ වෙන්නෙ කියල ඒ තුළ තියෙන විද්‍යාව පෙන්නුවම ඒ අංශයෙන් ඉගෙන ගත්ත අය ඒක පිළිගන්නවා.

උදාහරණ විදිහට එකම දේ එකම වෙලාවෙ තවත් තැනක තියෙනවයි කියන කාරණය නිව්ටන්ගෙ මූලික ගණිත ක්‍රමවේද ඉගෙන ගත්තු අය පිළිගන්නෙ නෑ. අභිඥා බලයෙන් එක දෙක තුන කරල පෙන්වන්න පුළුවන් කිව්වොත් ඒ අය ඒක පිළිගන්නෙ නෑ. හැබැයි නිව්ටන් නියමයත් අභිබවා ගිහින් දැන් හොයාගෙන තියෙනවා අළුත් සිද්ධාන්තයක්. ඒකෙන් එකම දේ එකම වෙලාවෙදි තවත් තැනක තියෙන්න පුළුවන් කියන කාරණය ඔප්පු කරල තියෙනවා. ඒ කියන්නෙ එදා තිබිච්ච ලෝක සම්මත විද්‍යාවම අද තවත් දියුණු වෙලා එහෙම දේවල් තියෙන බව ඔප්පු කරල පෙන්වනවා. ඒ කාරණය සිද්ධාන්තයක් වශයෙන් ඔප්පු කරල ප්‍රායෝගිකවත් යම් යම් උදාහරණවලින් පෙන්වා තියෙනවා. දැන් එතකොට මේ කියන කාරණය තුළින්, අභිඥා බල උපයෝගී කරගෙන එක දෙක කරල මවල පෙන්වන්න පුළුවන් කියන කාරණයත් ඔප්පු වෙනවා. හැබැයි ඔය ක්වොන්ටම් භෞතික විද්‍යාව එන්න පෙර ඒ වගේ දේවල් විද්‍යාඥයො පිළිගත්තෙ නෑ. නමුත් ඊටත් පෙර එහෙම ක්‍රම ලෝකය තුළ තිබුණා. විශේෂයෙන් බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයේ බොහෝ කොටම තිබුණා. නමුත් එදා තිබිච්ච ඒවා දැන් ඉන්න අයට ගෝචර කරගන්න බැරි වෙලයි තිබුනෙ.

හැබැයි මෙතනදි සමාන දෙයක් එකම වෙලාවෙ දෙපළක නෑ කියන කාරණයෙත් යම් කිසි අර්ථයක්, සත්‍යයක් ☞

තියෙනවා. නමුත් ඒක අති සියුම්. ඒ කියන්නෙ මොනම දෙයක්වත් 100% ක්ම සමාන නෑ. ආසන්න වශයෙන් සමානතාවයක් තියෙන දේ තමයි සම වස්තු හැටිය අපි සලකන්නෙ. මොකද පිටට පේන්නෙ සමාන විදිහට. චුල්ලපන්ථක හාමුදුරුවො 500 ක් මවාගෙන හිටියයි කියන කාරණෙයෙදිත් ඒ 500 ම සර්ව සමාන නෑ. පොඩි පොඩි වෙනස්කම් තියෙනවා. හැබැයි ඒ වෙනස්කම් පිටින් පේන්නෙ නෑ. පිටින් පේන්නෙ සමාන වගේ. මොකද සමානතාවයක් කියල පේන්නෙ චිත්තක්ෂණයක් ගානෙ බිඳෙන සිත්වලින්. ඒ වගේම රූපක්ෂණයක් ගානෙත් බිඳෙනවා. බිඳෙනකොට ශරීර, ද්‍රව්‍ය, වස්තු වෙනස් වෙනවා. හැබැයි මතුපිටින් හොයන්න බෑ.

රූප කලාප බිඳෙනකොට මොනම අවස්ථාවකවත් සමව බිඳෙන්නෙ නෑ, සමව පවතින්නෙ නෑ. හරියට වක්කඩක පෙණ පිඬු එනව වගේ. චිත්තක්ෂණත් එක්ක රූප කලාපයක් බලනකොට ඒ චිත්තක්ෂණයට ගෝචර වෙන කොටස තමයි මේ කියන්නෙ. වෙනත් විදිහකින් කියනව නම්, හිතට ගෝචර වන රූප කලාපයක ආයුස. චිත්තක්ෂණ 17 ක කාලයක තුල රූප කලාප කොහොමත් බිඳිල යනවා. බිඳිල ගිහින් උපචය (උපද්දවීම), සන්තති (පැවතීම), ජරතා (වැහැරීම), අනිච්චතා (අන්‍යතාවයකට පත්වීම) කියල අවස්ථා 4 ක් බවට පත් වෙනවා. හැම රූපයක්ම එහෙමයි. අපි රූපයක් දිහා බලනකොටත් චිත්තක්ෂණ 17 ක් තුල මේ ක්‍රියාවලිය සිද්ධ වෙනවා. ඒ තමයි එක රූපයක ආයුස. අපිට ඒ වගේ රූපයක් තමයි කොයි වෙලේ හරි අරමුණු වෙන්නෙ. උපචය අවස්ථාවෙදි රූපයක් අරමුණු වෙනවා. ඒ අරමුණ අර ගන්නකොටම සන්තති අවස්ථාවත් ඇවිත් තියෙන්නෙ. ජරතා, අනිච්චතාවලට යනකොට ඒ රූපය ගෙවිල ඉවරයි. ඊට පස්සෙ ඒ පිළිබඳ මතකය විතරයි එන්නෙ. ඒක තමයි අපි ඇඳ ගන්නෙ. ඒ හැමවෙලේම අපිට තියෙන්නෙ ආසන්න මතක සටහන්. ඒව තමයි අපි වර්තමානය කියල නිගමනය කරන්නෙ. වර්තමාන රූපයක් දැක්කා, බැලුවා කියන්නෙ ඒකයි. **නමුත් ඇත්ත වශයෙන්ම කාටවත් වර්තමානයක් දකින්න බෑ. අතීතයට ගෙවී ගිය ක්ෂණික මතක සටහන් තමයි වර්තමානය කියල ගන්නෙ.**

එතකොට සමානයි කියන කාරණය ගත්තොත්, එක ගහේ පොල් ගෙඩි



අඳුනගන්න පුළුවන්. පොල් ගස් 10 ක් තිබුණොත් වතු අයිතිකාරයට පුළුවන්, මේ අහවල් ගහේ ගෙඩි කියල අඳුනගන්න. පොල් ගෙඩි වශයෙන් සමාන වුනාට ගහෙන් ගහට වෙනස්. ඊට පස්සෙ ගහේ ඉත්තෙන් ඉත්තටත් වෙනස්. අන්තිමට එක ඉත්තෙ ගෙඩිත් වෙනස්. නමුත් ඒවා පිටින් පේන්නෙ නැති සියුම් වෙනස්කම්. ඒ අති සියුම් කාරණා අහුවෙන්නෙ දියුණු කරපු මනසකට විතරයි.

ඒ වගේම මීට අවුරුදු 90 කට පමණ පෙර මොංගෝලියාවෙ වැඩ හිටපු යම් කිසි අභිඥා ශක්තියක් තිබ්ච්ච බලවත් හාමුදුරු නමකගෙ දේහය මේ ළඟදි හොයාගෙන තියෙනවා. ඒ අය ඒ දේහයට ගෞරව කරනවා, වඳිනවා. උන්වහන්සේ පද්මාසනයෙන් ඉඳගෙන භාවනා කරමින් ඉන්නකොට 1927 දි තමයි අපවත් වෙලා තියෙන්නෙ. ඊට පස්සෙ උන්වහන්සේගෙ ගෝලයො ඒ ඉරියව්වෙන්ම දේහය ලුණු සහිත පෙට්ටියක දාල තැන්පත් කරල තියෙනවා. 2002 දි දේහය ගොඩ අරගෙන පරීක්ෂා කරනකොට, පුද්ගලයෙක් මියගිහින් පැය 12 කින් පසු සෛලවල තියෙන තත්වය මේ හාමුදුරුවන්ගෙ දේහයේ සෛලවලත් තියෙන බව විද්‍යාඥයො හොයාගෙන තියෙනවා. ඒ කියන්නෙ අවුරුදු ගණනාවක් ගිහිල්ලත්, මියගිහින් පැය 12 ක මෘත දේහයක ස්වභාවය තමයි තියෙන්නෙ. ඒ දේහය තවමත් මහජනයාට දැක බලාගන්න තියෙනවා. මෙච්චර කාලයක් ගිහිල්ලත් ඒ දේහය නරක් වෙලා නෑ. මිසරයේ මමී කියන මළ මිනී නම් විවිධ බේත් ද්‍රව්‍ය ගල්වල පිරමිඩ් ඇතුලෙ තියල තිබ්ච්ච නිසා අවුරුදු මිලියන ගණනක් වුනත් තියෙනවා. ඒ කාරණය නවීන විද්‍යාවෙන් ඔප්පු කරන්න පුළුවන් දෙයක්. නමුත් මේ කියන හාමුදුරුවන්ගෙ දේහය එහෙම කිසිම විශේෂ බේතක් ගල්වන්නෙ නැතිව, භෞතික ක්‍රමවේදයක් පාවිච්චි නොකර තමයි මේ විදිහට තියෙන්නෙ. මොකද ලුණු දැම්මයි කියල මිනිස් ශරීරයක් ඔච්චර කාලයක් නරක් නොවී තියෙන්න විදිහක් නෑ.

ඒ වගේම උන්වහන්සේ විසින් ලියා තියපු ලේඛනවල, ලෝකයේ ඇතිවන යම් යම් යුද්ධ ගැනත් අනාවැකි පළ කරල තියෙනවා. ඒ සමහර අනාවැකි ඒ විදිහටම හරි ගිහින් තියෙනවා. ඊට අමතරව උන්වහන්සේට දිය මතු පිට ඇවිදින්න පුළුවන්කමක් තිබුණ බවත් එදා හිටපු සාමාන්‍ය ජනතාව දැකල තියෙනවා. උන්වහන්සේ තමන්ගෙ ගෝලයින්ට සාසන අවවාදත් කරල තියෙනවා. ඒ සටහන් ලේඛන පිටින්ම හමුවෙලා තියෙනවා. දැන් ලෝකයේ විද්‍යාඥයින් පවා මේ දේහය මේ විදිහට තියෙන්නෙ කොහොමද කියල ඒ ගැන පරීක්ෂණ කරනවා. එතකොට දැන් තියෙන විද්‍යාවටත් අහුවෙන්නෙ නැති ඒ ක්‍රමවේදය මොකක්ද ? භෞතිකවාදීන් මේවාට උත්තර දෙන්නෙ කොහොමද? (මේ පිළිබඳ වැඩි විස්තර පහත වෙබ් අඩවිවලින් දැනගන්න පුළුවන්.)

- https://en.wikipedia.org/wiki/Dashi-Dorzho_Itigilov
- http://www.bbc.com/russian/society/2015/02/150205_mongolia_mummified_monk

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු සමඟින් සකස් කළේ:*

**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**077 4256683**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 4









පසුගිය කලාපයෙන් ඉදිරිපත් කළ ලිපිය හා සම්බන්ධ මේ ලිපිය මූලිකවම සියලු මනුස්ස වර්ගයා අතර දූනට බහුලව දකින්න තියෙන රෝගී තත්ත්වයකට ප්‍රධාන වශයෙන්ම හේතු වන, එදිනෙදා බහුලව භාවිතා කරන ඉහළ ශක්තියක් ලබාදෙන ලිපිඩ හෙවත් තෙල් හා සම්බන්ධයි.

ප්‍රධාන වශයෙන්ම ග්‍රෑම් 1 කින් කිලෝ කැලරි 9 ක් ලබා දෙන ලිපිඩ අපිට අත්‍යවශ්‍ය ශක්ති ජනක ආහාරයක්. නමුත් අද වෙනකොට, නහරවල කොලෙස්ටරෝල් තැන්පත් වීම නිසා මොළයට යන ප්‍රධාන ධමනිවල අවහිරතා ඇතිවීමෙන් නිතරම අහන්න ලැබෙන හදිසි රෝගී තත්ත්වයන් වන මොළේ නහර පිපිරීම, අධික රුධිර පීඩනය, හෘදයාබාධ වගේ මරණයට අත වනන රෝගී තත්ත්වයන්ට මුල පුරන්නෙත් මේ ලිපිඩ හෙවත් තෙල්. ඒකට හේතුව තමයි නවීන විද්‍යාත්මක මතය වන, පිෂ්ට ජනක ආහාර වර්ග අනුභව කරනකොට වැඩිපුර ගන්න ප්‍රමාණය මේද අම්ල බවට පත් වෙලා ඒවායින් ට්‍රයිග්ලිසරයිඩ් (Triglyceride) කියල හඳුන්වන ලිපිඩ, මාංශපේශීවල සහ ශරීරයේ විවිධ ස්ථානවල පවතින මේද පටකවල තැන්පත් වීම. ඒකෙන් අධික ස්ථූලතාවයක් ඇති කරන අතරම, ඒ හේතු කොටගෙන මෙටබොලික් සින්ඩ්‍රෝම් (Metabolic Syndrome) කියන තත්ත්වය ඇති වෙලා දියවැඩියාව, කොලෙස්ටරෝල්, පිළිකා... ආදී විවිධ රෝගී තත්ත්වයන්ට අවසානයේ ගොදුරු වෙන්න සිද්ධ වෙන බව නවීන වෛද්‍ය විද්‍යා මතය වෙනවා.

සියලු රෝගවලට කර්මය මුල් වුණත්, බොහෝ කොටම අනන්තර - සමනන්තර ප්‍රත්‍ය දූන ගැනීමෙන්, උපායශීලීව එදිනෙදා පරිභෝජනය කරන ආහාරවල තත්ත්වයන් ගැන අවධානය යොමු කරල, මොන ආගමක හෝ ජාතියක වුණත්, උපාය දන්නෝ අපායෙ නොවැටෙති කියන වදනට අනුව ඒ තත්ත්වයන්ගෙන් ගැලවෙන්න පුළුවන්. ඒ කියන්නෙ ප්‍රයෝග සම්පත්තිය යොදා ගැනීමෙන්.

ප්‍රධාන ආහාර වේලකින් 10 - 30% අතර ශක්තියක් නිෂ්පාදනය කරල, ශරීරයේ සෛලවල ක්‍රියාකාරීත්වය සඳහා උපකාරී වෙන්නෙ මේ ලිපිඩ හෙවත් තෙල්. නමුත් ඒ තෙල් ලබා දෙන පොල් පරිභෝජනය නැවැත්විය යුතුයි කියල මීට කාලයකට පෙර විවිධ ශ්‍රව්‍ය දෘෂ්‍ය මාධ්‍ය මගිනුත්, සෞඛ්‍ය ක්ෂේත්‍රයේ විවිධ අංශවලිනුත් ප්‍රචාරයක් ගෙන ගියා. නමුත් මෑත කාලයක පටන් නැවතත්, පොල් සහ පිරිසිදු පොල්තෙල් (නිවසේ සාදා ගන්නා ලද හෝ විශ්වාසදායීව වගකීමකින් ලබාගත හැකි) පරිභෝජනය ඉතා සුදුසු බව පෝෂණවේදීන්ගෙන් සහ සෞඛ්‍ය ක්ෂේත්‍රයෙන් අහන්න ලැබෙනවා. **නවීන විද්‍යාව ගැන දූනගෙන නොසිටියත්, අපේ පැරැන්නන් පෙර පටන්ම පොල් පරිභෝජනය ඉතා හොඳ දෙයක් කියල දූනගෙන හිටියා.** ඔවුන්ට පරීක්ෂණ මට්ටමේ දූනුම නැති වුණත් ප්‍රායෝගික දූනුම බොහෝ කොටම තිබුණා.

බෞද්ධ දර්ශනයට අනුව පටිච්ච සමුප්පන්නව පොල් ගහ හට ගත්ත ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ මේ ඇස, කන, නාසය, දිව, කය කියන්නා වූ ප්‍රධාන සංවේදී ඉන්ද්‍රියන්ට වහල් වෙලා, බ්‍රහ්ම කල්පික මනුස්සයා ක්‍රමයෙන් රූප, ශබ්ද, සුවඳ, රස සහ පහස පසුපස හඹා යාම ආරම්භ කරනවත් එක්කම මේ පහට තියෙන ලොල් ගතිය අධික වෙලා කලින් තිබිච්ච උසස් ගති පිරිහෙන්න පටන් ගත්තා. ඒ හේතුවෙන් පහ ලොල් - පොල් කියන ශාකය මිහිපිට හට ගත්තා. අපි ළඟ තිබිච්ච උසස් ගති ලක්ෂණයක් වන පංච කාමයන්ට ලොල්

නොවී ජීවත් වීමේ ගුණය ගිලිහී යාම නිසා ඒකෙ උප ශක්තියක් විදිහට මේ පොල් ශාකය තුළ ඒ ශක්තිය ගැබ් වුණා. ඒ නිසා නවීන විද්‍යාව දැනගෙන නොහිටියත්, එදා බෞද්ධයින් ඒ කාරණය දැන ගෙන හිටිය නිසා ශරීරයේ සියලු ඉන්ද්‍රියන්ටම පොල් ගුණදායී බව දැන ගෙන සිටියා.

මේ බව දැනගෙන හිටපු පැරැන්නන් කතාවටත් කිව්වෙ, පොල් සම්බෝලයි බතුයි තියේ නම් වෙන මොනවත් ඕන නෑ කියල. එදා ගොවියා උදේ පොල් සම්බෝලයට, කිරි හොද්දට ප්‍රිය කළ නිසා දිවා ආහාරය ගන්න කල් එයින් යැපෙන්න පුළුවන් හොඳ ශක්තියක් ඔවුන් තුල තිබුනා. එදා හෙළයා අද වගේ නෙවෙයි, මහා වැව් අමුණු හැදුවා, අහස උසට දාගැබ් බැන්දා. මහා පැරණි නගර නිර්මාණය කළේ ඔවුන්. ඔවුන්ට එදා පිටරටින් එන චීස්, බටර්, කිරිපිටි, ජෑම්, කෝඩියල් වගේ ශරීරයට අහිතකර කෘතිම කාරකවලින් පිරිච්ච කල් තබා ගන්න ආහාර තිබුනෙ නෑ. ඔවුන් ළඟ තිබුනෙ ඉපැරණි ස්වභාවික කල් තබා ගන්න ක්‍රමවේද, ස්වභාවික ද්‍රව්‍ය. අද වගේ මනුස්සයා ලෙඩ කරන වස විසවලින් යුක්ත කෘතීම කාරක එදා තිබුනෙ නෑ.

අද වගේ වැඩ නොවුනත් එදා පැරැන්නන්ටත් බොහෝ වැඩ තිබුණා. ඔවුන් අවදි වුණේ හිමිදිරි පාන්දර යාමයේ. එතැන් පටන් වැඩ පටන් ගන්නා ගෘහණියන්, දවසෙම නිවසේ සියලු වැඩවල නිරත වුනා. නමුත් අද ඉන්න අයට වගේ ලෙඩ රෝග තිබුණෙ නෑ. අද තරඟකාරී ලෝකයට මුදල් පසුපස හඹා යන සමාජයක් බිහි වීමේ කරුමය නිසා ලෙඩ රෝගවලින් බහුලයි. බලන බලන තැන්වල, අහන අහන තැන්වල තියෙන්නෙ අඳෝනා. අහස උසට බලාපොරොත්තු පොදි බැඳගෙන, පැවැත්ම පමණක් අරමුණු නොකිරීම හේතුවෙන් මානසික නිදහස අවම වෙලා. නිදහස් චින්තනය තියා තමන්ගෙ කටයුත්තක්වත් කරගන්න වෙලාවක් නෑ. නමුත් ඔවුන් නොදන්නා දෙයක් තියෙනවා.

එදා අවුරුදු 100 ක් ආයුස භුක්ති විඳල රෝගීන් නොවී මරණයට සතුටු සිතින් මුහුණ දුන්, මරණයෙන් පසුත් සුගතිගත වෙලා ක්‍රමයෙන් සසරත් කෙටි කරගත් ඉපැරණි සිංහල බෞද්ධයන් මේ රටේ වාසය කළා. එදා වසර 100 ක පරමායුස අද වෙනකොට වසර 60 - 70 ට කෙටි වෙලා. ඒ ඉන්න ටිකටත් රෝග එකක් දෙකක් නෙවෙයි කිහිපයක්ම වැළඳිලා මරණාසන්න මොහොතෙවත් යමක් හිතා ගන්න බැරිව වේදනාවන්ගෙන් පෙළෙමින් අවසානයේ සතර අපාගත තත්ත්වයට වැටෙන තරමට අප්‍රමාණව රාග, ද්වේශ, මෝහයන්ගෙන් තැවෙමින්, මරණයෙන් පසුත් සසර කතර කොච්චර නම් දුරද කියලවත් දන්නෙ නැති පිරිසක් තමයි අද ඉන්නෙ. මේකට ප්‍රධාන හේතුව තමයි, හොයන්න ඕන දේවල් හොයන්නෙ නැතිව වැඩකට නැති දේවල් පසුපස හඹා යමින් තමන්ගෙ කාලය, ශ්‍රමය, ධනය වැඩකට නැති දේවල් වෙනුවෙන් යොදවල බොහෝ සේ අපතෙ හැරීම.

මෙතනදි යම් කිසි අධ්‍යාත්මික ශක්තියක් මතුකර ගත් සමහර උත්තමයින් සමාධියෙන් දුටු, මනුස්ස ශරීරය ගැන ඉතා වැදගත්, විශේෂයෙන් මේ ලිපියෙන් හෙළිදරව් කරන කරුණුවලට බොහෝ ගැලපෙන කරුණක් සඳහන් කිරීම වටිනවා. අද නවීන විද්‍යාවෙන් කියන විදිහට අධික රුධිර පීඩනයට හේතුවන කරුණුවලින් වැඩි ප්‍රතිශතයක් සඳහන් කළ නොහැකි බව පවසා, ඒවා Essential Hypertension කියල නම් කරල තියෙනවා. ඉතිරි ඒවා සඳහා මානසික ආතතිය ආදී ඉතා සුළු හේතු කිහිපයක් සඳහන් කරනවා. නමුත් මේ කියන සමාධි වැඩූ උත්තමයන්ට අනුව, ශරීරයේ ප්‍රධාන වශයෙන්ම රැකෙන්න ඕන අවයව අතර මොළය ප්‍රධාන තැනක් ගන්නවා. මස් ලේ කයේ ස්නායු පද්ධතිය හා සම්බන්ධ මොළයට අවශ්‍ය පෝෂණය සහ ඔක්සිජන් සපයන ධමනිවල අපද්‍රව්‍ය, තෙල් වර්ග (අද සඳහන් කරන LDL, කොලෙස්ටරෝල් වගේ දේවල්) සහ බැර ලෝහ වර්ග තැන්පත් වීම හේතුවෙන් මොළයට ලේ සැපයීම අවහිර වෙනවා. නමුත් ප්‍රමුඛ වූ මොළය රැකෙන්න අවශ්‍ය නිසා ස්වයං සාධකව රුධිර පීඩනය වැඩි වෙලා ධමනි අවහිරතාවය මැඩගෙන මොළයේ රුධිර සැපයුම යාමනය වෙනවා.

ඒ කියන්නෙ, සියලු ස්නායු පටන් ගන්නෙ මොළය මූලික කරගෙන. ස්වභාවිකව හදවත ඉතා ඉහළ පීඩනයකින් රුධිරය තල්ලු කරන්නෙ මොළයට අවශ්‍ය සියලු ඔක්සිජන් සැපයීම සඳහා. අද නවීන වෛද්‍ය විද්‍යාවෙ සඳහන් කරන්නෙ, හදවතට අධික පීඩනයක් නොදිය යුතු බවත්, හදවත පළමුව ආරක්ෂා කළ යුතු බවත්. ඒ නිසා අධි රුධිර පීඩනය අඩු කිරීම සඳහා ඖෂධ වර්ග ලබා දෙනවා. රෝගයේ මූලික හේතුවට ප්‍රතිකාර නොකර මේ විදිහට සිද්ධ කිරීමෙන් වෙන්නෙ මොළයට යන ඔක්සිජන් ප්‍රමාණය අඩුවීම හේතුවෙන් මොළයේ සෛල ටිකින් ටික දුර්වල වීම. ඒ වගේම ධමනිවල තැන්පත් වන අපද්‍රව්‍ය ප්‍රමාණයත් ඒ හේතුව නිසා ඉහළ යෑමේ ප්‍රවණතාවයක් තියෙනවා. ඒ නිසා අපට දැන ගන්න තියෙන දෙයක් විදිහට, අධික රුධිර පීඩනයක් ඇති රෝගීන්ට නිතරම හිස කකියන ගති පැවතීම වගේම ස්නායු දුර්වලතා, අමතක වීම් සහ බොහෝ පිරිසකට මරණාසන්න මොහොතෙදි අංශභාගය වගේ රෝගී තත්ත්වයන්ට මුහුණ දෙන්න වෙනවා.

මෙතනදි අධි රුධිර පීඩනය සහිත රෝගීන්ගේ රුධිර පීඩනය වැඩි වෙනකොට පහළ අවයවවලට ඒ කාරණය තදින් බලපානවා. විශේෂයෙන් හදවත සහ වකුගඩු අතර තියෙන්නෙ ඉතා ළඟ සම්බන්ධතාවයක්. එතනදි වකුගඩු සහ හදවතේ සෛලවලට දැඩි තෙරපීමක් ඇති වෙනවා. ඒකට හේතුව ඉහළට තල්ලු කරන රුධිර ධාරා, මොළයට තල්ලු වීම අඩු වෙලා පහල ඇති අවයවයන්ට තෙරපීමක් ඇති කිරීම. එතනදි ප්‍රධාන වශයෙන් වකුගඩු අවහිරතා ඇතිවෙනවා. ඒ හේතුවෙන් අධි රුධිර පීඩනය සහිත රෝගීන්ගේ වකුගඩු රෝගී වීම දකින්න පුළුවන් දෙයක්. මේ කාරණය සලකා බලනකොට, අධි රුධිර පීඩනය ඇතිවෙන්න නියම හේතුව හොයල බලල ඒ සඳහා ප්‍රතිකාර කරන්නෙ නැතිව, වැරදියට ප්‍රතිකාර කරන්න යෑමෙන් මොළය හා ඒ ආශ්‍රිත ඉන්ද්‍රියන් දුර්වල වෙන්නත්, නිවැරදි ප්‍රතිකාර නොකිරීම නිසා හදවත වකුගඩු වගේ ඉන්ද්‍රියන් රෝගී වෙන්නත් හේතු වෙනවා. මොළයට යන ධමනිවල තියෙන අපද්‍රව්‍ය ඉවත් කරන්න සමාධිමය ප්‍රතිකාරවලින් ඖෂධ ලබා දෙනකොට විශේෂයෙන් වකුගඩු රෝගීන්ගේ සීරම් ක්‍රියැටින් (Serum Creatinine) කියන අගය පහළ යන බව අපිත් අත්දැකල තියෙනවා. ඒ වගේම ඔවුන් පෙළිච්ච වෙනත් ආබාධයන් පවා දුරු වෙලා යන බවත් දකින්න තියෙනවා.

ඉහළ මානසික මට්ටම් ගොඩ නගා ගත් උත්තමයින්ට මනුස්ස ශරීරය විනිවිද දකින්න පුළුවන් බවත්, නමුත් මානසික මට්ටම දියුණු නැති භෞතික පරීක්ෂණවලින් යම් යම් දේ ඔප්පු කරන්න යෑමෙදි සහ නිගමන දීමෙදි දෙපාරක් නෙවෙයි, ☞

සිය වතාවක් හිතන්න ඕන බවත් මේ කරුණු අනුව පැහැදිලි වෙනවා. එහෙම නැත්නම් බොහෝ පිරිසක් අමාරුවෙ වැටෙන්න පුළුවන්.

ඉහත කරුණු අනුව සළකා බලන කොට, මෑතකදි පේරාදෙණිය විශ්වවිද්‍යාලය මූලික කරගෙන නාගරික සහ ග්‍රාමීය ප්‍රදේශ කිහිපයක සිද්ධ කළ පර්යේෂණයකින් හෙළි වුණේ, ඉතා ඉහළ පොල් පරිභෝජනයක් තියෙන ග්‍රාමීය ප්‍රදේශවල ජීවත් වන (කුරුණෑගල/කුලියාපිටිය වගේ) පුද්ගලයින්ගෙ ලේ සාම්පලවල ලිපිඩ වර්ග හැසිරුණු ආකාරය ඉතා හොඳ තත්ත්වයක පැවති බවත්, ඉතාමත් අඩුවෙන් පොල් පරිභෝජනය කළ (කොළඹ සහ රාගම වගේ) ප්‍රදේශවල පුද්ගලයින්ගෙ ලේ සාම්පලවල ඉතා අධික විදිහට ලිපිඩ වර්ග ඉහල ගිහින් තිබුන බවත්. ඒකට හේතුව විදිහට ඔවුන් පෙන්වා දෙන්නෙ, ඉහළ නාගරික ප්‍රදේශවල ජනතාව සත්ත්වමය තෙල් අඩංගු ආහාර (මස්, මාළු, කිරි පිටි, බිත්තර, බැදපු ආහාර වර්ග, ක්ෂණික ආහාර) බහුලව පරිභෝජනය කිරීම.

ඒ දත්ත මේ විදිහට වගුගත කරන්න පුළුවන්.

**පරමාර්ථයෙන්ම පොල්තෙල්වලට පාම් තෙල් මිශ්‍ර කරල පාරිභෝගිකයා රැවටීමකට ලක් කරනවා.** මෙතනදි පාරිභෝගිකයා හිතන්න ඕන කාරණයක් තියෙනවා. ඒ තමයි, පොල්තෙල් බෝතලයක් හිඳ ගන්න සාමාන්‍යයෙන් පොල් ගෙඩි 7 ක් පමණ අවශ්‍ය වුණත්, පොල්තෙල් කියල කියන පාම් තෙල් මිශ්‍ර කරපු තෙල් බෝතලයක් රුපියල් 200/= ක් වගේ මිලකට දෙන්නෙ කොහොමද කියන කාරණය. දැන් පවතින පොල් මිල ගණන් එක්ක සසඳනකොට, පොල්වලින් විතරක් හැදුව නම් ඔය වගේ මුදලකට දෙන්න බෑ. වර්තමානයේ නියම පිරිසිදු පොල්තෙල් බෝතලයක් සඳහා වැය වන පිරිවැය රුපියල් 200/= ට වැඩියි. එහෙනම් ඔවුන් කරන කූට උපක්‍රම පාරිභෝගිකයන් විදිහට ඔබ තේරුම් ගන්න ඕන.

**අපේ පැරැන්නන් ගෙදරදීම හොඳ පිරිසිදු පොල්තෙල් හදා ගත්තා. ඒකෙන් කයටත් අභ්‍යාසයක් ඇවිත් ශරීර සුවතාවයත් රැකුනා. අද නම් මුදල් ගෙවල පොල්තෙල් වෙනුවට වස කාල ඒකෙන් ඇතිවන අධික තරබාරුව, කායික අපහසුතා නැති කරගන්න ශරීර සුවතා මධ්‍යස්ථානවලට (Gym) දුවනවා.** මේකට තමයි අද දියුණුව කියල

ඊළඟට මේ පාම් තෙල් කලවම් කරල තියෙන පොල්තෙල් හඳුන ගන්න පුළුවන් ක්‍රමයකුත් තියෙනවා. ආහාර බදින්න තෙල් රත් කරන කොට අධික ලෙස සුදු පාට පෙණ දමමින් තෙල් මතු පිට පෙණ පවතිනව නම්, ඒවා කලවම් කරපු තෙල්. විසාල වශයෙන් අද පාර තොටේ වඩේ, කට්ලට්, රෝල්ස්... ආදී නොයෙකුත් කෑම වර්ග හදන්නෙ මේ තෙල් භාවිතා කරල. ඒවා නැවත නැවතත් ආහාර බැදීම සඳහා භාවිතා කිරීම තවත් භයානකයි. ඒකෙන් හැදෙන අළුත් ලිපිඩ වර්ග හෙවත් ට්‍රාන්ස් ෆැට්ස් (Trans Fats) අධික ලෙස නහරවල තැන්පත් වෙන්න හේතු වෙනවා. ඒකෙන් නහර අවහිර වෙන බව නවීන විද්‍යාවෙන් සොයාගෙන තියෙනවා.

ඒ වගේම කොත්තු, ප්‍රයිඩ් රයිස්... ආදී රාත්‍රී කඩවල් වටා රුස්වන ජනතාව මිලදී ගන්නෙ ගුණයෙන් පිරිච්ච ආහාර නෙවෙයි. රසය විතරක් තියෙන, දරුවන් ඇතුලු සියලු දෙනා අනාගතයෙදි රෝගීන් කරන ආහාර වර්ග. එදා හිටපු දරුවන් වගේ නෙවෙයි, අද දරුවන්ට බොහෝ රෝගවලට ඔරොත්තු දීමේ හැකියාව අඩුයි. බොහෝ වෙලාවක් වැඩ කරන්න බෑ. ඔවුන් ඉතා තරබාරුයි. නිතරම නින්දට කැමතියි. ආදරයට

| | නාගරික | ග්‍රාමීය 1 | ග්‍රාමීය 2 |
|---|---|---|---|
| | කොළඹ / රාගම | කළුතර | කුරුණෑගල |
| පොල් පරිභෝජනය | අඩුයි. | වැඩියි. | ඉතා වැඩියි. |
| Total Cholesterol : HDL Cholesterol | ඉතා වැඩියි. | අඩුයි. | ඉතා අඩුයි. |
| LDL : HDL Cholesterol (අනුපාතය) | ඉතා වැඩියි. | අඩුයි. | ඉතා අඩුයි. |

මේ අනුසාරයෙන් නිගමනයන් විදිහට දීල තියෙන්නෙ, ඒ ලබා ගත්තු නියැදිවල පොල් පරිභෝජනය අධික ග්‍රාමීය ප්‍රදේශවල පුද්ගලයින්ගෙ ලේ සාම්පලවල ලිපිඩ වර්ග පැහැදිලි අඩු මට්ටමක පවතින බවත්, නාගරික ජනතාවගෙ තියෙන ආහාර රටාවල විෂමතා නිසා රුධිරයේ ලිපිඩ වර්ගවල ඉහළ යාම වැඩි වෙලා තියෙන බවත්. මේ හේතුවෙන් ඔවුන් උපදෙස් දෙන්නෙ පොල් පරිභෝජනයට බිය නොවී සත්ත්වමය තෙල් අඩංගු ආහාර වන කිරි පිටි, බිත්තර, මස්, මාළු, ක්ෂණික බැදපු ආහාර (පොල්තෙල් සමග පාම් තෙල් මිශ්‍ර) පරිභෝජනය අඩු කරන්න කියල.

අද වෙනකොට ව්‍යාජ වෙළෙන්දන් අධික ලාභ ලැබීමේ

කියන්නෙ. දිවෙන නුවණ තමයි දියුණුව කියන්නෙ. ඒ කියන්නෙ විහිදිලා යන මානසිකත්වයෙන් කරන කටයුතුවලදි ඇතිවන ප්‍රතිඵලය. වෙනත් විදිහකට කියනව නම්, යමක් පිළිබඳව දීර්ඝ ලෙස සියුම්ව දකිනවා කියන එක. එහෙම දැකල ඒක ක්‍රියාත්මක කරල ලබන ප්‍රතිඵලය තමයි දියුණුව කියන්නෙ. නමුත් ඒ කියන දියුණුව, පසුව හොඳට හෝ නරකට හිටින්න පුළුවන්. ඒක වෙනම කාරණයක්. අද වෙනකොට ඒ දියුණුව නරක පැත්තට තමයි සිද්ධ වෙලා තියෙන්නෙ. ඒ නිසා නිතරම අඩු මුදලට වැඩි දෙයක් ලබා ගන්න කොට දෙපාරක් හිතන්න ඕන. පිටරටින් එන සියල්ල තෝරා බේරා ගැනීම ඔබ සතු දෙයක්.

කියල දරුවන් රෝගීන් බවට පත් කරන වස විස පිරිච්ච ආහාර දීම නතර කරල, යහපත් නිරෝගි සාරධර්මවලින් පිරිපුන් දරු පරපුරක් හැදීම කාගෙත් යුතුකමක්. නැත්නම් අනාගතයෙදි රෝගී වෙච්ච දරුවන් දැකල කඳුළු සලන්න වෙන්නෙත් දෙමව්පියන්ට.

විශේෂයෙන් පොල්තෙල්වල අඩංගු සංතෘප්ත මේද අම්ල අතර, කෙටි කාබන් දාම ඇති මේද අම්ල (Short Chain Fatty Acids - SCFAS), මධ්‍යම ප්‍රමාණයේ කාබන් දාම ඇති මේද අම්ල (Medium Chain Fatty Acids - MCFAS), ඉතා දිගු කාබන් දාම සහිත මේද අම්ල (Long Chain Fatty Acids - LCFAS) අසංතෘප්ත මේද අම්ල, (UFAS) කාබන් අතර තනි ද්විත්ව බන්ධන

(- C = C -) සහිත මේද අම්ල (Mono Unsaturated Fatty Acids - MUFAS) සහ කාබන් අතර ද්විත්ව බන්ධන දෙකක් (- C = C - C = C -) හෝ ඊට වැඩි ගණනක් ඇති මේද අම්ල (Poly Unsaturated Fatty Acids - PUFAS) අඩංගු වෙනවා.

විවිධ තෙල් වර්ගවල මේද අම්ල පැතිරී ඇති රටාව

ඉහත වගුවට අනුව පොල්තෙල්වල SCFAS සහ MCFAS අඩංගු වෙනවා. VCDL, Triglyceride, Cholesterol...) නිපදවන්නත් හේතු වෙනවා. ඒවා පාම් තෙල්වල අධිකව තියෙනවා. ඒ වගේම සත්ත්ව තෙල්වලත් අධිකව LCFAS අඩංගුයි. එක බිත්තර කහ මදයක කොලෙස්ටරෝල් ග්‍රෑම් 130 ක් අඩංගුයි. **මේ පාම් තෙල් මිශ්‍ර පොල්තෙල් නැවත නැවත භාවිතා කරල ආහාර පිළියෙල කිරීමෙන් පිළිකා කාරකවලට හේතුවන මුක්ත කාණ්ඩ (Free Radicle) කියන නිදහස් ඉලෙක්ට්‍රෝන නිදහස් වීමෙන්, සෛල තුල තියෙන DNA** ප්‍රමාණයක් (LDL, VCDL, Triglyceride, Cholesterol...) තැන්පත් වීම සහ ඒවා දරන අනුපාතයන් වෙනස්වීම ඉතා ඉහළ මට්ටමක පවතිනවා. (Total Cholesterol : HDL අනුපාතය සහ LDL : HDL අනුපාතය)

මේ තත්ත්වය ගැන ජනතාව තවදුරටත් නොදැනීමේ අවසාන ප්‍රතිඵලය වෙන්නෙ රටේ ජනතාව ලෙඩ රෝගවලින් පිරිච්ච පිරිසක් බවට පත්වීම. මේ රටේ තියෙන ස්වභාවික

| තෙල් වර්ගය | <C12 (SCFAS) | C12 (MCFAS) | C14 (LCFAS) | C16 (LCFAS) | C18 (LCFAS) | MUFA | PUFA |
|---|---|---|---|---|---|---|---|
| පොල් | 10 | 45 | 18 | 10 | 3 | 08 | 2 |
| පාම් | - | - | 01 | 40 | 4 | 45 | 9 |
| සෝයා | - | - | - | 10 | 4 | 24 | 53 |
| කෝන් තෙල් (Corn Oil) | - | - | - | 12 | 2 | 31 | 53 |
| ඔලිව් තෙල් | - | - | - | 12 | 2 | 73 | 11 |

ඒවා දැනට විද්‍යාත්මකව සොයා ගෙන තියෙන විදිහට කෙලින්ම සෛල තුලට ඇතුළු වෙන්න පුළුවන්. එහෙම ඇතුළු වෙලා ක්ෂණිකව ශක්තිය උත්පාදනය කරනවා. ඒවා ශරීරයේ තැන්පත් වීමට බලනොපාන අහිතකර නොවන මේද අම්ල. පොල්තෙල්වල LCFAS වර්ග තියෙන්නෙ ඉතා සුළු ප්‍රමාණයක්. ඒවා යම් ප්‍රමාණයකට ශරීරයට අවශ්‍ය නිසා පොල්වල ඒ මේද අම්ලත් අඩංගු වෙනවා. ඒ වගේම MUFA සහ PUFA කියන ශරීර වර්ධනයට, මොළයේ වර්ධනයට අවශ්‍ය අසංතෘප්ත මේද අම්ල පොල්තෙල්වල අඩංගු වෙන්නෙ ශරීරයේ පැවැත්මට අවශ්‍ය ප්‍රමාණයට විතරයි.

LCFAS ප්‍රධාන වශයෙන්ම අපිට අනවශ්‍ය ලිපිඩ වර්ග (LDL, **සහ RNA වලට අහිතකර විදිහට බලපාල සෛලවල විකෘතිතා ඇති කරල පිළිකාකාරක සෛල නිපදවීම උත්තේජනය කරන්නත් හේතු වෙනවා.**

ඒ වගේම මහා පරිමාණයෙන් කේක් වර්ග නිෂ්පාදනය සඳහා භාවිතා කරන හයිකො කියන තෙල් වර්ගය (මේවා මාගරින් වෙනුවට භාවිතා කරනවා) තුලත් බහුල ලෙස LCFAS කියන සංතෘප්ත මේදය අඩංගු වෙනවා. ඒ වගේම මාගරින්වලත් LCFAS බහුල ලෙස අඩංගු වෙනවා. ඊට අමතරව චීස්, බටර්වලත් බහුලව අඩංගු වන මේවා වැඩි වශයෙන් භාවිතා කරන නාගරික ප්‍රදේශවල ජනතාව මේ වෙනකොට Lipid Profile පරීක්ෂණය කළාම (කොලෙස්ටරෝල් බැලීමට කරන පරීක්ෂණයක්) අනවශ්‍ය මේද දේවල් අත්හැරල කෘතීම වීමට යෑමෙන් අතේ තියෙන මුදලත් නැත්තටම වියදම් කරගෙන ලෙඩ රෝගවලට ප්‍රතිකාර කරන්නත් සිද්ධ වෙනවා. මේ තත්ත්වයෙන් මිදෙන්න අවශ්‍ය බොහෝ කරුණු කාරණා මේ සඟරාවෙ පසුගිය කලාපවල පළ කරල තියෙනවා. අපේ රටේ අනන්‍යතාවය රැකගෙන අපට ගැලපෙන, රටේ වැවෙන ස්වභාවික දේවල්වලින් සෑහීමකට පත් වෙන්න කාලය දැන් ඇවිත් තියෙනවා.

සටහන
**දමයන්ති විජේකුමාරි** BSc, MSc, M.Phil
**පෝෂණවේදී, බාහිර කථිකාචාර්ය**
**කුලියාපිටිය කාර්මික විද්‍යාලය,**
**0777-194794**

# සමාධිමය අත් බෙහෙත්...



ගල් අන්නාසි බොඩ



පෙරුම් කායම්



විස දූලි ගෙඩි



තිප්පිලි



රසකිඳ පිටි



කොට්ට දළු

## දද, වණ, කුෂ්ඨ වැනි රක්තවාත රෝග සඳහා

ලේ ධාතුව ආශ්‍රිතව පිත කුපිත වීම නිසා, විසම වීම නිසා ඇතිවන රෝග තමයි රක්තවාත රෝග කියන්නෙ. මේ වගේ රෝග හැදුනම ශරීරයට හරි අමාරුයි, දැවෙන්න පිච්චෙන්න ගන්නවා. දද, වණ, කුෂ්ඨ ආදිය ඇතිවෙන්නෙ ඒ රක්ත උෂ්ණ විස ශරීරයෙන් පිට කරන්න. වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී බෙහෙත් සමාධියෙන් මතු කරගත්, ශරීරය තුළ තියෙන රක්ත උෂ්ණ විස පිට කිරීම සඳහා ප්‍රත්‍ය වන ඖෂධයක් තමයි මේ.

මේ සඳහා අමු ද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ

ගල් අන්නාසි බොඩ, පෙරුම් කායම්, තිප්පිලි, රසකිඳ පිටි.

මේ හැම අමු ද්‍රව්‍යයකින්ම කලං 6 බැගින් අරගෙන කිතුල් පැණි අරික්කාලකින් අඹර ගන්න. අරික්කාලක් කියන්නෙ කාලකින් භාගයක්. ඒ කියන්නෙ බෝතලයකින් 1/8 ක්. එහෙමත් නැත්නම් අවුන්ස 3 ක්. ඒ විදිහට අඹරගෙන තිබ්බටු ගෙඩි 1/2 ක් පමණ තරමට ගුලි කර ගන්න. ඒ ගුලි උදේ හවස සති 2 ක් පාවිච්චි කිරීමෙන් ඉහත රෝග තත්ත්වයන් සමනය වෙනවා.

## ලොකු කැපුම් තුවාල සඳහා

මේ සඳහා යොදා ගන්නෙ විස දූලි ගෙඩි සහ කොට්ට දළු. විස දූලි ගෙඩි කියන්නෙ කාමරංක ගෙඩි වගේ ගෙඩි ජාතියක්. ඒ ශාකය එක්තරා උඩවැඩියා වර්ගයක්, පඳුරු විශේෂයක්. කොට්ට දළු කියන්නෙ කොට්ට පුළුං ගස්වල දළු. මේ විස දූලි ගෙඩි සහ කොට්ට දළු එකට කොටල එන ඉස්ම කැපුම් තුවාලයට වත් කරල බඳින්න. සියලු කැපුම් සහ වණ පැහෙනවා. දින 3 න් සුව වෙනවා.

(මේ සියලු ඖෂධ මීට පෙරත් සඳහන් කළා වගේ කර්ම ශක්තියට යටත්ව ප්‍රත්‍ය වෙන බව සලකන්න.)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 62 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ■ දමයන්ති විජේකුමාරි මහත්මිය - කඳාන ■ කැළුම් ලංකේෂ්වර මහතා - ගාල්ල ■ ඒස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ චාමර මධුශංක මහතා - දිවුලපිටිය ■ එරන්දි ජයකොඩි මහත්මිය ■ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 7,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ■ රංග මහානාම මහතා සහ තරංග මහානාම මහතා - හෝමාගම - රු. 5,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 4,000/- ■ කේ. පී. ගුණදාස මහතා - ගලපිටමඩ රු. 3,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ■ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ■ ඩබ්. කේ. නලිනසේකර මහතා සහ ඩබ්. ප්‍රේමවතී මහත්මිය - වලල්ලාවිට - රු. 2500/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු.2,000/- ■ ලලිත් වසන්ත මහතා ඇතුළු පිරිස - නිදහස් චතුරස්‍රය, කොළඹ - රු. 2,000/- ■ අනුෂ්ක කරංගොඩ මහතා - හංවැල්ල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්ති මහත්මිය - කඩවත - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1500/- ■ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ■ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,450/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු.1,000/- ■ කේ.එම්.කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ■ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණී පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණී නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ■ අසංක සෙනරත් අඹගල මහතා - ජපානය - රු. 1000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - ඇඹුල්දෙනිය - රු. 1000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1000/- ■ ඒ.ඒ.එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා -කිරුළපන - රු. 1000/- ■ රනිල් වර්ණකුලසූරිය මහතා - ඇටියාවල - රු. 1,000/- ■ එච්. යෙහානි දිලංකා මෙනවිය - පිටිපන - රු. 1,000/- ■ යසවතී ගුණවර්ධන මහත්මිය - ඉඳිගොල්ල - රු. 1,000/- ■ අයි. දමයන්ති මහත්මිය - කොස්වත්ත - රු. 1,000/- ■ ලිලී නෝනා මාතාව - වෙල්පල්ල - රු. 1,000/- ■ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ■ අමාෂි එනාරා දුව - රදාවාන - රු. 1,000/- ■ ශ්‍රියාන් සමරරත්න මහතා සහ ෂෙවාන්ති සමරරත්න මහත්මිය - මොරටුව - රු. 1,000/- ■ ටී. ජී. කරුණාකුමාරි මහත්මිය - නැදිමාල - රු. 1,000/- ■ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, දිලුම් දීප්ත කුමාර මහතා - ඇඹරලුව, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ගයාන් අගලවත්ත මහතා ☞

- හේමාස් ආයතනය, කොල්ලුපිටිය - එකතුව - රු. 4,240/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 177,190/- ■ පළමු පිටපත් 12000 සඳහා මුද්‍රණ වියදම රු. 262,800/- ■ අනෙකුත් වියදම් - 14,400/- ■ සම්පූර්ණ වියදම - රු. 277,200/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, මුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මඟුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුවිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය -0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (31) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# ගුණයයි පිනයි සුවයයි

ආයුස නැණ නුවණ සැප බල ගැන කැමති
මානුස ගුණ සපිරි බොදු උවසුවෝ පැනැති
නීරස වනු නොදී මනුසත් බව පිනැති
නෑ දොස සිදු කරනු යහ ගුණයම වඩති

සුළු වරදක් වුවද මහ මෙර ලෙස සළකා
මුළු වෙර යොදති සමහරු නැසුමට අනෙකා
බැලූ විට ඇති ඵලය කිම ගත හැක වළකා
කිළු ටකි වෛර සිතිවිලි හළ යුතු පසෙකා

පරිසර සොබාවට දහමට එරෙහි වෙලා
හිරිහැර එමට වන සම්පත අහිමි කළා
දුර හැර පව්ටු ගති සිදුවන විපත බලා
පැනසර ලෙස දකිමු රට ගැන දෙනෙත හෙළා

සතුටයි ඇවැසි වනු ධන නිල බලය නොවේ
එවිටයි මිනිස්කම හරවත් වනුයෙ ලොවේ
සැපයයි සිතා බලගතු අය ගැලෙති පවේ
ගුණයයි පිනයි ඇති තැන ඇත නියම සුවේ

ලද දෙය ගැන තුටුව යුතු අරපිරි මැස්ම
යැද යැද නොසිට කළ යුතු ඇති දෙය රැක්ම
මඳ කුදු නොපමාව යුතු ඉදිරිය දැක්ම
නිදහස සතුට ලද යුතු දිවි ඇති තෙක්ම

ඉල්ලති වඳිති සමහරු දෙවියන් යදිති
සිල් ඇති පිනැති උවසුවෝ පින් දම් කරති
පින් දෙති දුගියනට බත් දන් පැන් පුදති
ළං වෙති කෙමෙන් නිවනට නිවනින් නිවෙති

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා











# සසරින් එතෙර වන පාරුව මුරුතමුරේ...

අනත වූ සසර තරණය කරනට සැදී
බණ දම් බෙදන පුද බිම දිය වෙත ඇඳී
මනසට සිසිලසකි නිති තුන් සිත පැදී
සැනසුම ගෙනෙයි ගුණ වඩවා මුදිතාදී

හෙළ බොදු සෙනසුනකි නිවනට සදන ලද
මළ කෙළෙසුන් කෙරෙන් දුරුවෙයි සුවය හද
එල නෙලනට පැමිණී සඟ ගණ උවසු වොද
මිල කළ නොහැකි අරණකි ලොව තියෙන අද

සිරිමත් පරපුරෙන් පැමිණෙන දායාදේ
මුදුනත් තබා වැන්දත් පෙර පින පෑදේ
නිරුවත් කරන් හිත ඇහුවොත් බණ නාදේ
සිදුවෙත් මොක් සැපත නැත කුල මල බේදේ

සරලයි පියකරුයි සමවත වැඩෙන බිම
අරගන්නට ඇලෙන්නට නොව තැනට එම
කරගෙන විදසුනින් මේ භව ගමන නිම
තෙර වනු පාරුවෙන් අතහැර පුරට අම

ගිමන් නිවන්නට සසරෙහි දහම ඇත
ගමන් කරන්නට වෙයි නිසි තැනක වෙත
තමන්ගෙ ලෙස නොසිතා අතහරින සිත
යොමන් හිටියොතින් නිවනට දුරද නැත

භවයෙන් භවය යන බියකරු අතර තුරේ
දහමින් නිවෙන පුද බිම් ඇත මෙ නර පුරේ
සසරින් එතෙර වන පාරුව මුරුත මුරේ
දිවයන් එගොඩ නිවනෙහි දොර ඇත නුදුරේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන




1062 Rs.25.00
Hela Bodu Piyuma 62

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.